සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ ඇසළ මස (ව්‍යවහාරික වර්ෂ 2018 ජූලි)

83 වෙනි කලාපය



## සසර ණය ගෙවෙන සේ පොල් පැළයක් සිටවමු

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# සසර දිනුමු

කෙළෙස් සපිරි නිබඳව දුසිරිතට හිත
මිනිස් වග බඳුය වැලි මෙම දෙරණ මත
අපිස් ගුණැති දන නිය රැඳි පමණ වෙත
එබස් මුනිඳු දෙසු සත වෙත පතළ මෙත

අඳුරෙහි දිවි ගෙවන පවටම නැඹුරු වුන
දිවියෙහි අරුත නැති කිසි විට හැඳින දැන
දහමෙහි ඇසුර නොලබන එම පවිටු දන
සසරෙහි සැරි සරති නැත දුක නසන පින

මිනිස් කැළ දකිනු රිසි සසර පරතෙර
දුරස් විය යුතුය හැම වරද දුරහැර
දෙඇස් අඳ අයෙකු ලෙස කුමට දවසැර
උසස් ලෙස දකිනු ලොව නසනු මොහඳුර

නුවණැති දනෝ නොකරති වරද පරහට
සළකති පිහිට වෙති අසරණ වූ සතහට
නිවසති දැහැමි ලෙස ගරු සරුව දහමට
සැනසෙති බුදු සරණ ලැබ සසර දිනුමට

දහමකි මුනිඳු දෙසු භව දුක නසා ලන
ඔසුවකි අමාවකි ගත සිත නිවා ලන
සුවයකි සතට පව් සිතුවිලි බහා ලන
සුමගකි මොක් පුරට සුව සෙත සදා ලන

මනා කොට දෙසුව දහමෙහි ගුණ හැඳින
වගා කොට නුවණ යහ පිළිවෙත දකින
නිමා කොට සසර අග මුල නැති ගමන
ළඟා කොට ගනිමු අජරාමර නිවන

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ලෝක ස්වභාවය මුල් කරගෙන කමටහන් සැකසෙන අයුරු... 03



කාමය / රාගය කිව්වම අද හිතාගෙන ඉන්නෙ එක පැත්තක් විතරයි. ඒ කියන්නෙ පුරුෂයෙක් ස්ත්‍රියක් කෙරෙහි හෝ ස්ත්‍රියක් පුරුෂයෙක් කෙරෙහි හෝ හැඟීම් ඇති කර ගැනීම සහ ඒ අනුසාරයෙන් ඇති කරගන්න ස්පර්ශය තමයි අද කාමය / රාගය කියල හඳුන්වන්නෙ. නමුත් ඇස, කන, නාසය, දිව, ශරීරය කියන මේ ඉන්ද්‍රියන් පහෙන්ම ගන්න අරමුණු සහ ඒ අනුසාරයෙන් විඳින වින්දනයන්ට පොදුවේ කාම / රාග කියල කියනවා. ඒ නිසා තමයි මේවා පොදුවේ පංච කාම කියල හඳුන්වන්නෙ.

මේ කාමය විඳින්න ගියාම බල්ලන්ට අහුවෙච්ච මස් කටු වගේ, උකුස්සන්ට අහුවෙච්ච මස් කැටි වගේ මහා පොරයකට අහුවෙනවා. කාමයට හිතකර යම් ද්‍රව්‍ය, වස්තු, සත්ත්ව, පුද්ගල කියන මේ පැවැත්ම තුල යමකින් කාමය හට ගන්නවද, කාමය බලාපොරොත්තු වෙනවද, ඒ කාමනීය වස්තුවලට ලෝක සත්ත්වයා අතර මහ පොරයක්/තරඟයක් තියෙනවා. අප්‍රමාණ ලෝක සත්ත්වයෝ මේ පොරය / තරඟය ඇති කරගෙන, ඒ පොරයට / තරඟයට බැහැල ඒ කාම පොරය නිසාම සටන් කරන්න, තරඟ කරන්න සිද්ධ වෙනවා. එකෙක්ගෙන් අනිකෙකුට උදුර ගන්න, එක්කෙනෙකුට නොදී තමන්ගෙ භුක්තිය සඳහා ළඟ තියාගන්න... මේ ආදී වශයෙන් හිත් පහල වෙනවා. ඒවා හරිම වටිනවා, හරිම දුර්ලභයි කියල හිතාගෙන එක එක්කෙනා පොර කාල අයිති කරගෙන ඉන්න නිසාම, මගේ ගොඩ ලොකු කරගන්න ඕන කියල හිතක් පහල වෙනවා. හැබැයි කාටවත් මේකට අතගහන්න දෙන්න බෑ, ඒක මගේ ගොඩේ තියාගන්න ඕන කියන තැන තමයි හිත තියෙන්නෙ. අන්න ඒකෙන් හට ගන්න සිත්වලට ලෝභ සිත් කියල කියනවා.

එතකොට මේ සිත කියන වචනය එක තේරුමක් නෙවෙයි, යම් කිසි තැනක පිහිටල ඒ පිළිබඳව බලාපොරොත්තු ඇති කරවන, ඒ ඒ අරමුණුවල බහින්න, ඒ ඒ අදහස් පිහිටන්න, සිත කියල යමක් යම් සේ පිහිටනවද, අන්න ඒ පිහිටන ආකාරය අනුව හිත්වලට නම් වෙන් කරල තියෙනවා. ඒ අනුව ලෝභ සිත් කියන්නෙ එක ආකාරයක්.

ඊළඟට ඒ කාමනීය වස්තු එහෙම කාටවත් දෙන්න බෑ කියල, ඒක අසාධාරණයි කියල ඔය ආකාරයෙන් ක්‍රමයෙන් ගැටෙන්න පටන්ගෙන සිත් පහල කරනවා. අන්න ඒ පහල කරන සිත්වලට කියනවා ද්වේශ සිත් කියල. ඒ හිත තිබුනම තමයි ඒ ජාතියේ වැඩ හිතෙන්, කයෙන්, වචනයෙන් කරන්නෙ. ලෝභ හිත පහල වුනාම තමයි ලෝභ සහගත දේවල් හිතෙන්, කයෙන්, වචනයෙන් කරන්නෙ. සමහර වෙලාවට ඒ දෙකම කරගන්න බැරි, තේරුම් ගන්න බැරි අවස්ථාවට පත්වෙලා මුළාවට පත් වෙනවා. එතකොට නන්නත්තාරෙ යනව වගේ කිසිම දෙයක් කරගන්න දන්නෙ නෑ, කියන දේ දන්නෙ නෑ, කරන දේ දන්නෙ නෑ, හරි වැරදි දන්නෙ නෑ, කොහේ හරි ඇලිල ගැලිල ඉන්නවා. එතකොට කියනවා මෝහ සිත් පහල වෙනව කියල. ඔය විදිහට ප්‍රධාන වශයෙන් ලෝභ සිත්, ද්වේශ සිත්, මෝහ සිත් කියල ලෝක සත්ත්වයා කොටස්වලට වෙන් කරගන්නවා.

එතකොට තව කොටසක් ඉන්නවා, ඒවා එහෙම අසාධාරණයෙන් භුක්ති විඳින්න හොඳ නෑ, කාටත් පොදු වෙන්න ඕන, කාටත් සාධාරණ වෙන්න ඕන කියල... මේ විදිහට හදාගෙන, කවුරුත් එක්ක පොදුවේ භුක්ති විඳිනවා මිසක් අපි නම් ලෝභ වෙලා ඉන්නෙ නෑ කියල. සමහර පිරිසකට එහෙමත් හිත් පහල වෙනවා. ඒවාට අලෝභ හිත් කියල කිව්වා. මම නම් සැර පරුෂ වෙලා අනික් අය එක්ක තරහ වෙවී රණ්ඩු වෙවී මේ සැප විඳින්නෙ නෑ... මේ ආදී වශයෙන් කොටසකට අද්වේශ සිත් පහල වෙනවා. ඔය මොනවා කරගත්තත් මුළාවනේ, වැඩක් නැහැනේ කියල තව පිරිසක් අමෝහ සිත් පහල කරනවා. ඔය අතර නැණවතුන් විසින් දැකල, මෙන්න මේ සිත් ලෝභ කොටසට දාන්න පුළුවන්, මේවා ද්වේශ කොටසට දාන්න පුළුවන්, මේවා මෝහ කොටසට දාන්න පුළුවන්... ආදී වශයෙන් එහෙම වෙන් කරගන්නවා.

ඉතින් ලෝභ සිත්, ද්වේශ සිත්, මෝහ සිත්, අලෝභ සිත්, අද්වේශ සිත්, අමෝහ සිත් කියල මේ මොන සිත් පහල කරගත්තත් මේ ඔක්කොම ලෝක පොදියෙමයි යන්නෙ. ඒ නිසා මෙතැන ඥානයක් නෑ. නියම දැනීම, අවබෝධය නෑ. ඥානයෙන් විකෘති බවක් ඇති කරගත්ත නිසා විඤ්ඤාණයක් පහල කරගන්නවා.

දැන් මේ විඤ්ඤාණ ගොඩ ගහගෙන එක එක ජාතියේ ඒවා අරගෙන ඒ ඒ අදහස් දරාගෙන සැරිසරන වැඩපිළිවෙලක් තියෙනවා. දුර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, අභ්‍යන්තර වේවා, බාහිර වේවා, විඤ්ඤාණයයි

යමක් පෙර වීද, දැන් වෙයිද, මතු වන්නේද, මෙන්න මේ සියල්ලම එකතු කරල විඤ්ඤාණ ස්කන්ධය කියල කිව්වා.

දැන් රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංඛාර ස්කන්ධය, විඤ්ඤාණ ස්කන්ධය කියල කිව්වම, ඔය ටික ඔක්කොම ලෝකෙ පැවැත්මට හදාගත්ත අර හිතයි, ගතයි එහෙම නැත්නම් නාමයයි, රූපයයි කිව්ව ටිකම තව විදිහකට විග්‍රහ කරල තමයි ඔය තියෙන්නෙ. ඒ කිව්වෙත් මේ සත්ත්වයයි, ලෝකයයි. ඔය ටික අරගෙන යන්නෙ මොකක් නිසාද? ඇත්ත පේන්නෙ නැති නිසා. මේවා වටිනාම දේ කියල ගත්ත නිසා නිච්චයි, සැපයි, අත්තයි (සාරයි) කියල ගත්ත දෘෂ්ටිය නිසා, එයින් පහල කරගත්ත අවිද්‍යාව නිසා, අවිද්‍යාව මුල් කරගත්ත වැඩපිළිවෙලින් ඔය ටික නිෂ්පාදනය කරගෙන ජාතිවලට එනකල් හදාගන්නවා. ලෝභ ජාති, ද්වේශ ජාති, මෝහ ජාති... ආදී වශයෙන් ගැලපෙන විදිහට ජාති පහල වෙලා හැඩගැහිල එනවා. ඒ අනුව හට ගත්තා වූ ඇස, කන, නාසය, දිව, ශරීරය ඒ ගති ලක්‍ෂණයට උරුම වෙලා හැඩ තලයක් ගන්නවා. බැරිවෙලා හරි බලු ගති ලක්‍ෂණයක් නම් තිබුනෙ, ඒකෙන් හට ගත්ත ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන මේ ටික බලු හැඩයකට හැඩගැහෙනවා. ඒ හැඩය හට ගත්ත ගතියේ රූපය තමයි බලු ගතියේ බලු රූපය. ඒක වෙනස් වෙන්නෙ නෑ. ඒක තමයි හැඩය. කවුරුවත් කිව්වට නෙවෙයි, ඒ ගතියේ / කටයුත්තේ තියෙන අසාධාරණත්වය උඩ, ඒ උරුම තත්ත්වය උඩ ඒකෙ හැඩය තමයි බල්ලට තියෙන්නෙ.

ඒ ගතිය සාරධර්ම විනාස කරන හරක් ගතියක් නම්, ඒ ගති රූව හරක් හැඩය තියෙන ගති රූව වෙනවා. හරකගෙ ගති රූව කියල අපි කියන්නෙ ඒ හැඩයේ පහල වෙච්ච ගති රූවට. ඒක මනුස්ස සුගති ගතියකට හේතු වුනා නම් ඒ ශරීරය මිනිස් ආකාර ගන්නවා. මිනිසා කියල අපි හඳුන්වන්නෙ ඒකෙන් ගත්ත ආකාරයේ ලක්‍ෂණය දැකල ඒකට. මේ ලෝකෙ ඉන්න තරමක් යම් සත්ත්වයො ඉන්නව නම්, ඔය ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන මේ ගති ලක්‍ෂණයන්ගෙන් ඇති කරගත්ත, උරුම කරගත්ත ගති රූව තමයි ඒ ඒ ස්වභාවයන්ට අනුව ලෝක සත්ත්වයා ලබන්නෙ. මොන කාලයක වුනත්, මොන කල්පයක වුනත්, මොන ලෝකයක වුනත්, පිටසක්වලක වුනත්, හිතක පහල වෙන ඔය ගති ලක්‍ෂණය නිසා, ඒ ගති ලක්‍ෂණයේ ගති රූව තමයි කොයි සතාට වුනත් තියෙන්නෙ. ඒ නිසා වෙනත් සක්වලකට ගිහින් බැලුවත් මිනිස්සු ඉන්නවා, බල්ලො ඉන්නවා, හරක් ඉන්නවා, බූරුවො ඉන්නවා... ඔය මොනව හරි ජාතියක තමයි ඉන්න වෙන්නෙ. වෙන එකෙක් හට ගන්න බෑ. මොකද හේතුව, ගතියට අනුකූල රූවක් තියෙනව නම් ඒක වෙනස් වෙන්නෙ නෑ.

මෙන්න මේකෙන් ලෝක සත්ත්වයා ඒ ඒ ගති රූව අරගෙන, ඒ ගති රූවේ නිෂ්පාදනය මුල් වෙලා, අර උපාදානය කියල කිව්ව ආසන්නයට ඇදිල හිටපු ඒ ඒ දේ නිෂ්පාදනය කරගෙන, ඒ සඳහා පොදු ලෝකයකුත් හදාගෙන, පොදුවේ එකතු වෙලා ඒ පොදු ලෝකය තුල ඒ ඒ ජාතියේ ස්වභාවයන් ඇසුරු කරගෙන, හැඩරූව අරගෙන, ඒකට අනුකූල වන්නා වූ සතර මහා භූතයන්ගේ සනීභවනයන්ට පත්වෙලා, ඒ ඒ මට්ටමේ දුක, සැප දෙකට ගොදුරු වෙලා ඒකට උරුම දේවල් විඳගෙන යනවා.

එහෙනම් ප්‍රියයි, මනාපයි, යහපතයි කියල යම් දෙයක් හට ගන්නකොට එක දෙයක් සිද්ධ වෙනවා. මේ අප්‍රමාණ ලෝක සත්ත්වයා පොරකන්නෙ ඕවටමයි. මොකද මේ ලෝකයේ යමක් ප්‍රිය, මධුර ස්වභාවයෙන් යුක්ත නම් ඒ නිසාමයි ලෝක සත්ත්වයෝ සසර සැරිසරන්නෙ, හොයාගෙන යන්නෙ. ඒ ප්‍රිය, මධුර ස්වභාවය නිසා, ඒවායේ තියෙන ආස්වාදය නිසා, ඒවා වට කරල තියෙන අප්‍රමාණ ආදීනවයත්, අප්‍රමාණ දුක් කන්දරාවත් ඒ ආස්වාද මාත්‍රයෙන් වැහෙනවා. ඒ ආදීනවය, දුක් කන්දරාව පේන්නෙ නැතිව යනවා. මේක තමයි අවිද්‍යාව කියල කිව්වෙ. නිච්චයි, සැපයි, අත්ථයි (සාරයි) කියන දෘෂ්ටියේ ඉන්න තාක්කල් මේ ආස්වාදයෙන් අර දුක් කන්දරාව වැහෙනවා. මෝහය, මුළාව කිව්වෙ ඒකට. අවිද්‍යාව තියෙන නිසාමයි එහෙම වෙන්නෙ. අන්න ඒකෙන් වැහිල තමයි මේ ලෝක සත්ත්වයා අනන්තයේ පටන් එන්නෙ. මෙන්න මේක පළමුවෙන්ම හරියට දැක්කෙ ලොව්තුරා බුදු රජාණන් වහන්සේ විතරයි. එහෙම දැකල ඒකට හේතුව කිව්වා.

මෙන්න මේ තියෙන අවිද්‍යාව දුරු කරල දාන්න ඕන. ඒක දුරු කළාම තමයි ඇත්ත පේන්න පටන් ගන්නෙ. එතකල් වැහිල තිබිච්ච ආදීනවය එදාට ඇරෙනවා, පේන්න පටන් ගන්නවා. හැබැයි මේක තනියෙන් ඇරගන්න පුළුවන්කමක් නෑ. මූලික වශයෙන් මේ බැඳිල තියෙන මායාවෙන් තාවකාලිකව මොහොතකට හරි ඉවත් වෙනකල්, ලෝක සත්ත්වයෙකුට මේ ප්‍රිය මධුර ස්වභාවයෙන් යුක්තයි කියන තැන ඉඳල කවදාවත් මේ ඇත්ත බලන්න බෑ. ඒ අවස්ථාව ඉක්මවල ඒ වැහිල තියෙන ආදීනවය මොහොතක් හරි ඉස්මතු කරල දකින්න නම්, යම් මොහොතක යම් වෙලාවක තාවකාලිකව හෝ යම් සංවරත්වයක් ඇතිවෙන්න ඕන. මෙන්න මේක තමයි කල්‍යාණ මිත්‍රයෙක් ඇසුරෙන් සිද්ධ වෙන සේවය හෙවත් සාසනයෙන් සිද්ධ වෙන සේවය.

සාසනය තුලින් මොකක්ද ලැබෙන්නෙ? උපදෙස් ලැබෙනවා. ඕක බල බලා ඉන්න කල්, අහ අහා ඉන්න කල්, ඒකෙ බැඳිල ඉන්න කල් ඔය ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය හිතෙන් අයින් කරගන්න බෑ. ඒ නිසා කොහොම හරි හිත හික්මවල මොහොතක් හරි ඇස් දෙක සංවර කරගන්න, කන් දෙක සංවර කරගන්න, නාසය සංවර කරගන්න, දිව සංවර කරගන්න, කය සංවර කරගන්න, මන සංවර කරගන්න උත්සාහ කරන්න. මෙන්න මේ ඉන්ද්‍රියන් යම් මොහොතක සංවර කරගෙන ඉන්නව නම් අන්න ඒ වෙලාවෙදි පුළුවන්කම ලැබෙනවා, ඒ බාහිර මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම පිළිබඳව බලපොරොත්තු මොහොතකට අයින් කරන්න. ඕකට තදංග ප්‍රහාණය කියලත් කියනවා.

හොඳට බණ අහන වෙලාවෙදි මන වඩන රූප පස්සෙ හිත යන්නෙ නෑ. ඇස් දෙක ඒවා පස්සෙ යන්නෙත් නෑ. ප්‍රිය මනාප වූ කාම සහගත වූ ශබ්ද අහන්න යන්නෙත් නෑ. ඒ පැත්තට අවධානය නෑ. ප්‍රිය මනාප ගන්ධ ආඝ්‍රාණයට යවන්නෙත් නෑ. ප්‍රිය මනාප මිහිරි රසවලට යවන්නෙත් නෑ. කාම ස්පර්ශවලට යවන්නෙත් නෑ. ඒවා ගැන හිතන්න හිත යොමු කරන්නෙත් නෑ. ඔන්න ඔය ටික නැතිව ඉන්න වෙලාවක තදංග ප්‍රහාණය කියල අවස්ථාවක් එනවා. ඒ මොහොතෙම ටිකෙන් ටික නීවරණ මැකිල යනවා. අන්න ඒ වෙලාවට මෙච්චර කල් වැහිල තිබිච්ච ආදීනවය (දුක් කන්දරාව) ටිකෙන් ටික පේන්න පටන් ගන්නවා. එතකොට තමයි දකින්නෙ, ආස්වාද මාත්‍රයකට ආදීනව ලක්‍ෂයක් යට කරනවා නේද කියල. මෙන්න මේ ආදීනවයේ තරම දැක්කට පස්සෙ මොකද වෙන්නෙ, ආස්වාද මාත්‍රය දෙවෙනි වෙනවා. අප්‍රමාණ ආදීනවය පිළිබඳව කලකිරෙන්න පටන් ගන්නවා. අනේ මේ ආදීනවයක් ගෙනත් දෙන දෙයක් නේද ආස්වාදය කියන්නෙ! මේක හරියට මාළු අල්ලන්න දාපු ඇමක් වගේ නේද! මේ විදිහට එක එක උපමාවෙන් දකිනවා. රසවත් ඇමක්

බිලී කොක්කෙ අමුණල තියෙනවා. මාළු ඒක දන්නෙ නැති නිසා රසයට, ආස්වාදයට ගිජු වෙලා අර පටලවල තියෙන ඇම ගිල්ලම ඒකෙ පැටලිලා අප්‍රමාණ දුකක් විඳිනවා. මරණය හෝ මරණය හා සමාන දුකකට පත්වෙනවා. ඒක තමයි ආදීනවය.

ලෝක සත්ත්වයාට දාල තියෙන මෙන්න මේ ප්‍රියමනාප කියන ඇම තමයි අප්‍රමාණ දුක් කන්දරාවක් තියෙන මාළු කොක්කට අමුණන්නෙ, ඇමිණෙන්න හේතු වෙන්නෙ. ඇම ගිල්ලොත් එහෙම බේරෙන්න පුළුවන්කමක් ලැබෙන්නෙ නෑ. කොක්කෙන් බේරෙන්න බෑ. කොක්කට ඇමිණුනා වගේ අර දුක් කන්දරාවට පත් වෙනවා. මෙන්න මේ කාරණය අපි පළමුවෙන්ම දකින්න ඕන. ඒක නිකං දකින්න බෑ කිව්වෙ ඒකයි. මොහොතක් හරි සංවරත්වයට පත්වෙලා කල්‍යාණ මිත්‍ර සම්පත්තියේ ඉන්නකොට, හොඳට බණ අහන මොහොතක, ඔය පංච කාමයෙන්ම වෙන්වෙන වෙලාවක් එනවා. මේක තමයි සාමාන්‍ය කෙනෙකුට, හිත වඩපු නැති මූලික කෙනෙකුට මේ ඉන්ද්‍රියන් සියල්ලම සංවර කරගන්න තියෙන අවස්ථාව. එතැන ඉන්ද්‍රිය සංවරත්වය සම්පූර්ණයෙන්ම තියෙනවා. එතන දස අකුසලය නැගිල නෑ. එහෙනම් ඔය වෙලාවෙදි ඉන්ද්‍රිය සංවරත්වය තියෙනව නම්, දස අකුසලයෙන් මිදිල ඉන්න වෙලාවක, කනට ඇහෙන ඒ ගැඹුරු ධර්මය තුලින් වැටහෙන්න පටන් ගන්නවා, ආස්වාද එකකින් ආදීනව ලක්‍ෂ ගණනක් වැහිල තියෙනවා කියන කාරණය. එතකොට මේ ආදීනව වැහිල තියෙනවා කියල නිගමනයකට බහිනවා. ඒ වෙලාවෙදි මෙන්න මේ වගේ අදහසක් ඇතිවෙනවා.

මෙබඳු වන්නා වූ ආදීනවයකින් ගහණ වෙලා තියෙන, පිරිල තියෙන, ආස්වාදය නමැති මායාවෙන් වහල තියෙන ලෝකයක් නේද මේ ලෝකය කියන්නෙ! මේකට නේද මේ ලෝක සත්ත්වයා රැවටි රැවටි යන්නෙ! ඒ ආස්වාදයන් ඇසුරු කරන්න ගිහින් අප්‍රමාණ දුකකට පත්වෙනව නේද!... මේ ආදී වශයෙන් මෙන්න මේ මූල ධර්මය වැටහෙන්න පටන් ගන්නවා. ඒක වැටහුනාට පස්සෙ ඒ වැටහීම අයින් කරන්න කාටවත් බෑ. වැටහුනේ නැති නිසා තමයි මෙච්චර කල් ගියේ. යම් දවසක ඔය ආදීනවය දැක්ක නම්, අර විදිහට හිතනකොට ඒ දැකපු දැකීම වෙනස් කරන්න බැරිව යනවා. මොකද දැක්කෙ ඇත්ත නිසා. සත්‍යයක් දැක්ක



නම් ඒක බොරු වෙන්න බෑ. දැකපු ආදීනවය කවදාවත් වෙනස් කරන්න බෑ.

යම් කිසි දෙයක් පිටින් වහල තියෙනවා. එතකොට ඇතුලෙ මොනවා තියෙනවද කියල දන්නෙ නැතිව ඉන්න තාක් කල්, හරි ලස්සනයි, හරි ලස්සන මල් පෝච්චිය කියල හිතාගෙන ඒ ගැන කිය කියා ඉන්නවා. හැබැයි කොයි වෙලාවෙ හරි මේක ඇරල බලනකොට ඇතුලෙ අසූචි තියෙනව කියල දැක්ක නම්, ඒ දැකපු එක නැවත වෙනස් කරන්න බෑ. ඒක කොච්චර පිටින් ඔප කරල තිබුනත් ඇතුලෙ තියෙන්නෙ අසූචි. ඒක ප්‍රත්‍යක්‍ෂයෙන්ම දකිනවා. පිටින් රත්රන් පාට ගාල තියෙනවා. නමුත් බැලුවම පිත්තල කැල්ලක්. නැත්නම් වෙනත් හිස් දෙයක්, මැටි බඳුනක්. පිටින් ආලේප කරල තියෙන වර්ණය නිසා රත්රන් වගේ දිලිසෙනවා. ඒකට රත්රන් බඳුනක් කියල රැවටිලා බල බලා ඉන්න පුළුවන්. නමුත් කොයි මොහොතක හරි ඇතුල දැක්ක නම්, මැටි බඳුනක පිටින් ඔප කරල තියෙන පාටක් නේද කියල දැක්ක නම්, නැවත කවදාවත් පිටින් ලස්සන බල බලා හිටියත්, මේක මැටි බඳුනක්, පිටින් ගාල තියෙන එකක් මිසක් වෙන දෙයක් නෙවෙයි කියල දකිනව වගේ මේ සත්‍යය දකිනවා. ඒ සත්‍යය දැක්ක වෙලේ පටන් වෙනස් කරන්න බැරිව යනවා. ඒ තමයි දැකපු සත්‍යය. ආදීනවයන්ගෙන් පිරිල තියෙන ආස්වාද මාත්‍ර තමයි මේ ලෝකෙ තියෙන්නෙ. ප්‍රිය මනාප රූප, ප්‍රිය මනාප ශබ්ද, ප්‍රිය මනාප ගන්ධ, ප්‍රිය මනාප රස, ප්‍රිය මනාප ස්පර්ශ අප්‍රමාණ ආදීනවයකට යට කරල හංගල පිටින් ගාල තියෙන ඔපයක් නේද කියල දකින්න පටන් ගන්නවා. මෙන්න මේ මූල ධර්මයට ඔන්න ඔය විදිහට එන්න ඕන.

මේ නුවණ ආවට පස්සෙ දකිනවා, ඔය රූපස්කන්ධය කියන එකට ඇයි සත්ත්වයා හිත බඳින්නෙ කියල. ඒකෙ මන වඩන ප්‍රිය මධුර ස්වභාවය ඇති ආටෝපයක් තියෙනවා. ඔන්න ඔය රූපස්කන්ධයේ හැඩතල හදල තියෙන්නෙ අන්න ඒ ආටෝපයට. ඇතුලෙ තියෙන රූපස්කන්ධය කොහොම හට ගත්ත එකක්ද කියල බැලුවම, ඒ ගොඩ තුලින් ඔප මට්ටම් කරපු ආස්වාදය ලබන්න නම් මහා වෙහෙසක් ඇති කරල නිෂ්ඵල රූප ගොඩක් ඇති කරගන්න ඕන කියල දකිනවා.

ඇතුලත රොඩු ගොඩක් පුරවල තියෙනව වගේ, ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියල මේ ධාතු 4 ක් එක එක ආකාරයෙන් බැඳල හදල තියෙන දෙයක් ඇතුලෙ, පිටින් කරල තියෙන ඔපය තමයි රූපයේ මන වඩන කොටස. ඒක තමයි ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය ඇති කරන කොටස. ඉතින් ඕක අරගෙන ශරීරයේ ස්වභාවය බැලුවොත් එහෙම කෙස්, ලොම්, නිය, දත්, හම කියන මේ ටිකේ තියෙන පිට ඔපයට, මන වඩන ප්‍රිය මධුර ස්වභාවයට හරි ලස්සන රූපය කියල කියනවා. හරි ලස්සන සත්ත්වයා, හරි ලස්සන පුද්ගලයා කියල කියනවා. ඉතින් ඔය පිට ඔපය තියෙන කයේ ඇතුලෙ තියෙන ටික බැලුවොත් එහෙම, අර ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියල කිව්ව ජලය, ගින්න, වායුව, පස් කියන ඔය හතර කොටසක් එක එක ආකාරයට පරිවර්තනය වෙලා හැදුන, ලස්සන හැඩ වැඩ නැති ගොඩවල් ටිකක් තමයි ඇතුලෙ තියෙන්නෙ. බැරි වෙලාවත් හැඩ වැඩ නැති ගොඩවල් ටික පිටින් පෙරන් ගාල අයින් කරන්න

කිව්වොත් එහෙම, නිය පිට පෙරන් ගාල, හම පිට පෙරන් ගාල ගන්න දෙයක් නෑ. හරයක් නෑ.

එහෙනම් තිබිල තියෙන්න මොකක්ද? ඔප කරපු මායාවක් මිසක් වෙන දෙයක් තිබිල නෑ. අර අභ්‍යන්තරයේ ගොඩ ගහල තිබුන කිලෝ ගානක කුණු ගොඩකින් හූරල අයින් කරල, මෙන්න මේ අර ලස්සන ටික කියල පෙන්වල දෙන්න බැරි පිට ඔප මට්ටම් කිරීම දැකල ඕකට රැවටිලා තමයි කියන්නෙ, මේ පුද්ගලයා මට අවශ්‍යමයි, දැක්කම දාල යන්න බෑ කියල. මොන විදිහකින් හරි මගේ ඇසුරට ගන්න ඕන, මොන ජරා වැඩේ කරල හරි කමක් නෑ මට රකින්න ඕන, ලැබුනෙ නැත්නම් මගේ ජීවිතෙත් මට එපා... ආදී වශයෙන් කියනවා. මේ ඔක්කොම කියන්නෙ අර පිට ඔපයට රැවටිලා. අර පිට හමට, පාටට තිබ්බ්ච කුරුට්ට පෙරන් ගාල, මෙන්න මේ ඔබ ඉල්ලපු කොටස කියල දුන්නොත් ගනියිද? නිය පිඩකින් හූරන තරම් ටිකක් අයින් කෙරුව නම්, මෙන්න අර ඉතුරු ගොඩ ඔක්කොම තියෙනවා, මේකෙන් මම ගත්තෙ කලං බාගයයි, අර මූනෙ තිබුන හංකඩයයි, උඩින් තිබුන කුරුට්ටයි, අතපයේ තිබුන කුරුට්ටයි පොඩ්ඩක් හූරල අරගෙන, මෙන්න ඉතුරු ටික ඔබ ඉල්ලපු කොටස ඔක්කොම තියෙනවා කිව්වොත් ගනියිද? ඒ මොහොත ගත්ත නම් එහෙම, අපෝ බලන්න බෑ යකා වගෙයි මම නම් පළාතෙ යන්නෙ නෑ කියනවා.

බැරි වෙලාවත් අර හංකඩේ පොඩ්ඩක් පිච්චුනොත් එහෙම, මුලදි හරි හැඩයි කිව්ව හංකඩයට ඇසිඩ් ටිකක් ගහල, ගෑස් එකක් අල්ලල මොන ක්‍රමයකින් හරි හංකඩය පලු ගහල ගියා නම්, රැලි වැටිල ගියා නම්, අර පිට තිබ්බ්ච හංකඩ පොඩ්ඩ හැර ඉතිරි කිලෝ ගණන එහෙම්මම තියෙනවා. ලස්සනයි කිව්ව, පණ දෙන්න හදපු ශරීරයෙන් අර පුංචි කොටස අහකට දැම්මොත් එහෙම, අපොයි දැන් නම් මට කොහොමටවත් එපා කියල මගඇරල පැනල දුවනවා. හරි හැඩයි කියල කිව්ව කෙනා අව්වෙ එක්කගෙන ගිහින් පොඩ්ඩක් විරූපී වුනා නම්, අර තිබුන කුණු ගොඩ ඒත් එහෙම්ම තියෙනවා. ඔපය පොඩ්ඩක් වෙනස් වෙලා ගියා. දැන් ඇහුවොත්, ඉස්සර නම් ලස්සනයි, දැන් නම් බලන්න බෑ කැතයි මට නම් එපා කියනවා.

එහෙනම් මේ බැඳිල තියෙන මන වඩන රූප කියන්නෙ මොනවටද? අර සතර මහා භූත ගොඩවල්වලින් අංශු මාත්‍රයක් කියන්නත් බැරි තරම් පිටින් ඔප කරපු එකකට. **අහක් කළේ අංශු මාත්‍රයයි, එපා වෙනවා. ඔප කළේ අංශු මාත්‍රයයි, පණ දෙන්න හදල ඒක ගන්න බලනවා. ඇඟ ඇතුලෙ තියෙන වකුගඩුව, අක්මාව, පෙණහැල්ල, හදවත දැකල, හරි ලස්සන හරි සිනිඳු අවයව ටික කියල ඒ අභ්‍යන්තර ඉන්ද්‍රියන්ට නෙවෙයි කෙනෙක් ආස කරන්නෙ. ඒවායේ ප්‍රිය මධුර ස්වභාවයක් නෑ. ඔය කියන ලස්සන තරුණයගෙ / තරුණියගෙ වුනත් ඒ අභ්‍යන්තර ඉන්ද්‍රියන්ට නෙවෙයි කෙනෙක් ඇළුම් කරන්නෙ. සමහර විට පිටින් ලස්සනයි කියන තරුණයගෙ / තරුණියගෙ වුනත් අභ්‍යන්තර ඉන්ද්‍රියන් දුර්වල වෙලා රෝගී වෙලා තියෙන්න පුළුවන්. ඒ වගේම වයසට ගිය කෙනෙක්ගෙ වුනත් ඒ ඉන්ද්‍රියන් නිරෝගීව තියෙන්න පුළුවන්. නමුත් ඒක නෙවෙයි බලන්නෙ. අර පිට ඔපයට තමයි රැවටෙන්නෙ.**

දැන් මෙන්න මේක තමයි ලෝක සත්ත්වයා ආස්වාද මාත්‍රයෙන් වහල තියෙන රූපය. ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය තියෙන ආස්වාද මාත්‍රය, වැඩක් නැති මහා කුණු ගොඩක් ඇතුලට දාල පිටින් කරපු ඔපයෙන් වහල තියෙනවා. ඒ ආස්වාද මාත්‍රයට බැඳිල තමයි අර කුණු ගොඩම ගන්නෙ. ඒ හිත අයින් කරගන්න බැරි නිසා, ඕක විනිවිද ගිහින් බලන්න බැරි නිසා, විදල බලන්න බැරි නිසා, විද්‍යා කරන්න බැරි නිසා, විදගන්න බැරි වුනාම අවිදුව / අවිද්‍යාව කියල කියනවා. අවිදු විදු කියන්නෙ විදිනවා. විද්ද නම් ඇතුල පේනවා. එතකොට වැටහෙනවා, අපිට ගන්න තිබුන දේ මායාවකට රැවටිලා නේද කියල. කවදාහරි පටන් මට මෙබඳු රූපයක් අවශ්‍යයි කියල බලාපොරොත්තුවක් ඇති කරගත්තෙ, ඔය ඇතුලෙ තිබ්බ්ච කුණු ගොඩ දැකල නෙවෙයි, පිට තිබ්බ්ච මායා ආස්වාද මාත්‍රය දැකල. දැන් මේක දකින්න පටන් ගන්නවා. ඉතින් වේදනා අරගන්නෙත් ඔය ටිකෙන්ම තමයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

**දහම් ශ්‍රවණය කළ පින්වතුන් උදෙසා පූජ්‍ය වලස්මුල්ලේ අභය හිමියන් විසින් මෙහෙය වනු ලබන ආර්ය භාවනා වැඩසටහන.**

2018 අගෝස්තු මස 18 - 31 දක්වා පෙ. ව. 9.00 සිට ප. ව. 8.00 දක්වා.

කළුබෝවිල **Colombo South International College** - 077 276 3379 / 071 967 0296 / 077 226 3268 / 071 563 0844

උපාසක උපාසිකාවන්ට නේවාසික පහසුකම් ඇති අතර, ඒ සඳහා ලියාපදිංචි වීමක් අවශ්‍ය නොවේ. ඉහත ඕනෑම දිනයක, ඕනෑම වේලාවක සහභාගි වීම සහ ඉන් පිටවීම සිදු කළ හැක.

**නිරපේක්ෂත්වයේ මග**

nirapekshathwayemaga

මීට සමගාමීව පහත ස්ථානවලදී මෙම වැඩසටහන සමග අන්තර් ජාලය ඔස්සේද සම්බන්ධ වී භාවනාව වැඩිය හැක.

- බෝධි මළු විහාරය - ඉඳිමින්න, ජාඇල 077 011 13 66 / 077 815 34 31
- මහනුවර 071 555 26 66
- ඒකනායක මන්තින්දාරාමය (අඹගහකොටුව පන්සල) ඉහළගහ, අටබාගේ, ගම්පොළ 077 541 64 61 / 081 205 75 72
- රත්නපුර 071 257 60 83

---

ධර්මයයි ඔබයි

www.dharmayaiobai.org

හුදෙක් නිවන් අවබෝධය සඳහා පමණි

**ධර්මයයි ඔබයි ඉදිරි දේශනා පෙළ ගැස්ම සඳහා විමසීම්**

0777 770129, 0761 356 335, 0776 251624, 0772 790 013

සීල භාවනා වැඩසටහන හා දානමය කටයුතු සඳහා විමසීම් - 0761 356 337

# නිවන් ලැබ දෙන කමටහන්...

03 කොටස



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කරල දුන්න තවත් වටිනා කමටහන් පෙළක් ඉදිරිපත් කිරීමට මත්තෙන්, ඒ සඳහා නිදාන වෙච්ච දහම් විග්‍රහය දැන ගැනීමත් බොහොම වැදගත්. මොකද කමටහනක් හරියට වැඩෙන්න නම් මේ ලෝකයේ ස්වභාවය තේරුම් අරගෙන ඉන්න ඕන. උන්වහන්සේ උපාසක මහත්තයෙක් විදිහට කටයුතු කරපු කාලයේ පටන් ඇසුරු කරපු තවත් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් එදා කරපු ඒ දහම් විග්‍රහය මේ විදිහට හෙළිදරව් කළා.

දවසක් අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක ධර්ම සාකච්ඡා කර කර ඉන්නකොට අපිට කියනවා, තථාගතයන් වහන්සේ නමක් ලෝකයේ පහල වෙන්නෙ සිල් වතක් සමාදන් කරවන්න නෙවෙයි, අකුරු අටකින් (බැඳි අකුරුවලින්) යුක්ත පද තුනක් ලෝක සත්ත්වයාට ප්‍රකාශ කරන්න කියල. එහෙම කියල අපිට ඒ පද තුන පිළිබඳව පැහැදිලි කිරීමක් කළා. ඒ තමයි අනිච්ච, දුක්ඛ, අනත්ත කියන පද තුන. යම් කෙනෙකුට මේ වචන තුන ගැන අහල පැහැදිලිව පිරිසිදුව නිවැරදිව දැන ගන්න අවබෝධ කර ගන්න ලැබෙනව නම්, ඒ අවස්ථාව ඉතාම කලාතුරකින් කෙනෙකුට ලැබෙන අති දුර්ලභ අවස්ථාවක් හැටියටත්, එබඳු කෙනෙක් ඉතාම කෙටි කාලයක් තුල ධර්මාවබෝධය ලබාගෙන සදා සැනසීමෙන් සැනසීමට පත් වෙන බවත් කියල මේ විදිහට ඉතා දීර්ඝ දහම් විග්‍රහයක් කළා.

අනිච්ච, දුක්ඛ, අනත්ත කිව්වම මේ ලෝකයේ කිසිම දෙයක් කිසිම කෙනෙකුට කැමැති සේ පවත්වන්න බෑ. කැමති සේ නොපැවතීම සියල්ලන්ටම දුකයි. ඒ නිසාම මේ ලෝකයේ ගත යුතු හරවත් දෙයක් සාරවත් දෙයක් නෑ. ඒ හේතුවෙන් මේ ලෝකය අසාරයි අනාථයි. මේ කාරණය තම තමන්ගෙ ජීවිතවලට සම්බන්ධ කරගෙන ප්‍රායෝගිකව අත්හදා බලන්න ඕන. මේ වචන තුන පිළිබඳව පැහැදිලි පිරිසිදු නිවැරදි අර්ථය කළ්‍යාණ මිත්‍ර උතුමෙක්ගෙ ඇසුරින් දැන හඳුන ගත්තම, තම තමන්ගෙම ජීවිතවලට සම්බන්ධ කරගෙන බලන්න ඕන. **තම තමන්ගෙ වයස ගැන හිතල, දැන් මගේ වයස අවුරුදු 30, 40, 50, 60... මේ ආදී වශයෙන් මම මෙච්චර කාලයක් දිවා රාත්‍රී වෙහෙස මහන්සි වෙලා කටයුතු කළා. ඇයි මම එහෙම කටයුතු කළේ? යමක් මම හිතෙන් හිතුව නම් ඒ හිතුවෙ, යමක් මම වචනයෙන් කිව්ව නම් ඒ කිව්වෙ, යමක් මම කය වෙහෙසවල කළා නම් ඒ කළේ, මට කැමති සේ පවත්වා ගන්නද නැත්ද කියල තම තමන්ගෙම නුවණින් විමසල බලන්න ඕන. එතකොට තම තමන්ගෙම නුවණට ගෝචර වෙනවා, මම එහෙම කැමති සේ පවත්ව ගන්න කටයුතු කළා, මගේ ඒ බලාපොරොත්තු මේ වෙනකල්ම ඉෂ්ට සිද්ධ කරගන්න බැරි වුනා කියල.** එහෙම කියන්න තියෙන හොඳම සාක්කිය තමයි, මම කිසිසේත්ම කැමති නෑ විවිධ රෝගාබාධ ඇතිවෙනවට, වයසට යනවට, ඇස් පේන්නෙ නැතිවෙනවට, කන් ඇහෙන්නෙ නැති වෙනවට, අකමැති අය සමග ජීවත් වෙන්න, කැමති පුද්ගලයන්ගෙන් ඈත් වෙලා ඉන්න, නමුත් මට ඒ අවස්ථාවලට මුහුණ දෙන්න සිද්ධ වුනා... මේ ආදී වශයෙන් විවිධාකාර වශයෙන් දකින්න ඕන.

එහෙනම් මේ කිසිම දේකට මම අවංකවම මුහුණ දෙන්න කැමති නෑ. නමුත් මට ඒ සියල්ලටම මුහුණ දෙන්න සිද්ධ වුනේ නැත්ද? සිද්ධ වුනා. එහෙනම් මට දැන් වැටහෙනවා, මම මොන විදිහට කටයුතු කළත් මේවා මේ වෙනකල්ම මට කැමති සේ පවත්වන්න බැරි වුනා කියන කාරණය. එහෙනම් මට ඉච්ච සේ පැවතුනාද, අනිච්ච සේ පැවතුනාද? මම කැමති විදිහට නැති නිසා අනිච්චයි. කැමති විදිහට නැත්නම් ඕනෑම කෙනෙකුට තේරෙනවා ඒක දුකයි කියල. ඒක තේරුම් ගන්න මහා භාෂා විසාරදයො වෙන්න ඕන නෑ. හිතන්න කල්පනා කරන්න පුළුවන්, සිහි කල්පනාව තියෙන ඕනෑම කෙනෙකුට ඒක තේරෙනවා. කැමති සේ නොපැවතීම හොඳයි කියන්න, ඒක වටිනවා කියන්න, ඒක සාරයි කියන්න, ඒක අනුමත කරන්න මේ ලෝකෙ ඉන්න කිසිවෙකුටත් බෑ. ඒ නිසා අසාර බව දකිනවා.

එහෙනම් දැන් තමන්ට තේරෙන්න ඕන, කැමති සේ නැති නිසා අනිච්චයි, කැමති සේ නොපැවතීම දුකයි, කැමති සේ නොපවතින්නා වූ ලෝකය හොඳ දෙයක් නෙවෙයි, සාරවත් දෙයක් නෙවෙයි කියල. ඒ නිසා අසාර වූ අර්ථයෙන් අනත්තයි කියල කියනවා. එහෙනම් මම අනිච්චයි දුක්ඛයි අනත්තයි. ඔය විදිහට විග්‍රහ කර කර තමන් ගැන බලන්න ඕන.

ඊළඟට තමන්ගෙ මව්පියන්, දූ දරුවන්, ඥාතීන්, හිත මිත්‍රයන්... මේ ආදී වශයෙන් සෙසු ලෝක සත්ත්වයන් ගැනත් දකින්න ඕන. එහෙනම් සෙසු අයත් රෑ දවල් නැතිව නොකා නොබී දුවනවා පනිනවා වෙහෙසෙනවා මහන්සි වෙනවා. ඒ අයත් හිතන කියන කරන හැම දෙයක්ම හිතන්නෙ කියන්නෙ කරන්නෙ කැමති සේ පවත්වන්නද නැත්ද? ඒ අයත් කැමතියි කැමති සේ පවත්වන්න. එහෙනම් කැමති සේ පවත්වන්න පුළුවන්

වුන කෙනෙක් ඒ අය අතර ඉඳල තියෙනවද? එහෙම කෙනෙක් හිටිය නම් ඒ අය අතරත් රෝගාබාධ නැති, වයසට යන්නෙ නැති, ඇස් පෙනීම නැතිවෙන්නෙ නැති, කන් ඇසීම නැතිවෙන්නෙ නැති, යන්න එන්න බැරි වෙන්නෙ නැති, අබල දුබල වෙන්නෙ නැති, මිය පරලොව යන්නෙ නැති කෙනෙක් ඉන්න ඕන. නමුත් මොන තරම් වෙහෙස මහන්සි වුනත් එහෙම කෙනෙක් මේ ලෝකෙ ඉඳල නෑ. එහෙම කෙනෙක් කොයි කාලෙක හරි ලෝකෙ කොහේ හරි හිටිය කියල පොතක පතකවත් තිබිල ආරංචි වෙලා තියෙනවද? එහෙම අහන්න දකින්න ලැබිලත් නෑ. එහෙම වෙන්න හේතුත් නෑ.

ඒ සඳහා තියෙන හොඳම සාක්කිය තමයි, ලෝකෙ පවතින නවීන විද්‍යාව, තාක්ෂණය මොන තරම් දියුණුයි කිව්වත්, අවුරුදු 100 කට 125 කට එහා හිටිය කිසිම කෙනෙක් අද ජීවතුන් අතර නෑ. එහෙනම් ඒ අය අතර දහම් අවබෝධයක් නොලබපු යමෙක් හිටිය නම්, බැහැ බැහැ කිය කියා අකමැත්තෙන් තමයි හැමදේකටම මුහුණ දීල තියෙන්නෙ. එහෙනම් ඒ අයටත් කැමති සේ පවත්වන්න පුළුවන් වෙලා තියෙනවද නැත්ද කියල විමසල බලන්න. එතකොට තම තමන්ගෙම නුවණට තේරෙනවා, ඒ අයටත් එහෙම කැමති සේ පවත්වන්න බැරි වෙලා තියෙනවා, කැමති සේ පවත්වන්න පුළුවන් කෙනෙක් මේ විශ්වයේ කොහේවත් ඉඳල නෑ කියල. එහෙනම් ඒ ඒ සියලු දෙනාම අනිච්චයි. කැමති සේ නොපැවතීම දුකයි. කැමති සේ නොපවතින්නා වූ ලෝකය හොඳයි කියන්න, සාරයි කියන්න, වටිනවා කියන්න, හරවත් කියන්න බැරි නිසා අසාරයි අනත්තයි. එහෙනම් අපිට පැහැදිලියි, ඒ සෙසු සියලු සත්ත්වයෝමත් අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල. දැන් සියලු සත්ත්වයන් ගැන ඔය විදිහට විග්‍රහ කරල බලන්න ඕන.

ඊළඟට මේ ලෝකෙ තියෙන බාහිර වස්තු, ගස් ගල්, වතුපිටි, ගෙවල් දොරවල්, ගහකොළ, යාන වාහන, ඉර හඳ, තාරකා... ආදී සියල්ලත් අපිට කැමති සේ පවත්වන්න බෑ. ඒ බව නුවණින් විමසල බලනකොට තේරෙනවා. එහෙනම් ඒවත් අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසාරයි.

ඉතින් මේ විදිහට මූලික වශයෙන් පැහැදිලි පිරිසිදු නිවැරදි දහම් අවබෝධයක් ලබා ගත්ත කල්‍යාණ මිත්‍ර උතුමෙක්ගෙන් මේ ගැන අහල මේ පිළිබඳ සාකච්ඡා කරල යම් අවබෝධයක් ලබාගත යුතුයි. මේ විදිහට සාකච්ඡා කරල දැන ගත්තට පස්සෙ තම තමන්ගෙම නුවණින් තම තමන්ටම තේරෙනවා, පෙනෙන ලෝකය ඔහොම නම් නොපෙනෙන ලෝකත් නොපෙනෙන සියල්ල ගැනත් අහන්න බලන්න දෙයක් නෑ, ඒ සියලු ලෝකත් කැමති සේ පවත්වන්න බෑ, කැමති සේ පවතින්නෙ නෑ කියල. න්‍යාය ධර්මානුකූලව බැලුවම ඒ සියලු ලෝකත් තමන්ට කැමති සේ නැති නිසා අනිච්චයි. කැමති සේ නොපැවතීම දුකයි. කැමති සේ නොපවතින්නා වූ ලෝකය හොඳයි කියල, සාරයි කියල, වටිනවා කියල අනුමත කරන්න බැරි නිසා අසාරයි අනත්තයි කියල තේරුම් ගන්නවා.

ඉස්සෙල්ලම මේ විදිහට අහල සාකච්ඡා කරල දැන ගන්නවා. ඊළඟ පියවරේදි මේ කියපු කාරණා ඇත්තද කියල නුවණින් විමසල බලනවා. එහෙම බලනකොට තම තමන්ටම තේරෙනවා, ඇත්ත තමයි මේ ලෝකෙ කිසිම දෙයක් කිසිම කෙනෙකුට කැමති සේ නම් පවත්වන්න බෑ, ඒ නිසාම දුක හට ගන්නවා, අසාර ලෝකෙ මොනවා හොඳයි කියන්නද, අනාථයි අසාරයි කියල. මේ සිද්ධාන්තය කිසිම උගතෙකුට බුද්ධිමතෙකුට මහා දාර්ශනිකයෙකුට හෝ මේ ලෝකෙ කිසිම කෙනෙකුට හෝ වෙනස් කරන්න බෑ, එහෙම නෙවෙයි කියන්න බෑ.

මේ විදිහට කරුණු කාරණා තේරුම් කරල දුන්නට පස්සෙ, ඒ කරුණු කාරණා තේරුම් කරල දුන්න කෙනාම නැවත කිව්වොත්, නෑ මට වැරදීමකින් තමයි මම එහෙම කිව්වෙ කියල, අහගෙන හිටිය අයට කියන්න සිද්ධ වෙනවා, නෑ ඔබතුමා කියන්නෙ බොරු කියල. මොකද ඒ තරම්ම සදාතනික සත්‍යතාවයක් ධර්මතාවයක් තමයි ඔය කිව්වෙ. නමුත් මොන තරම් ඇත්ත වුනත්, ලෝකයේ කිසිවෙකුටත් එහෙම නෙවෙයි කියන්න බැරි වුනත්, පැහැදිලි පිරිසිදු නිවැරදි ධර්මයක් වුනත්, ඔය ටික නිකං කිය කියා හිටියට නිවන් දකින්න පුළුවන්කමක් නෑ. දහම් අවබෝධ කරගන්න පුළුවන්කමක් නෑ. **ලෝකයේ තියෙන හැමදෙයක්ම අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කිය කියා ඇස් පියාගෙන හිටියට හරි යන්නෙ නෑ.**

ඔය වචන ටික නිකං කිය කියා ඉන්න එක හරියට වර්තමානයේ මරණ සතිය වඩනවා වගේ තමයි. මොකද අද බොහෝ ස්ථානවල මරණ සතිය වඩන්නෙ, ජීවිතය අනියතයි මරණය නියතයි, මරණය මරණය මරණය... කිය කියා පැත්තකින් වාඩිවෙලා ඇස් පියාගෙන වම් අත උඩ දකුණු අත තියාගෙන. එහෙම තමයි භාවනා කරන්නෙ. ඔය විදිහට ටික කාලයක් කරල පස්සෙ සෙසු අය එක්ක මහා අහංකාරකමකින් තමයි කියන්නෙ, අනේ මම නම් දවස ගානෙම මරණ සතිය වඩනවා කියල. අපි නුවණින් විමසල බලන්න ඕන, එහෙම මරණ සතිය වැඩුවම හරිද, ඒ විදිහට මරණ සතිය වැඩුවම මරණ සතිය වැඩෙනවද කියල.

අපි හිතමු අවුරුදු 30 - 40 ක් විතර සිල් සමාදන් වුන ඔය කියපු විදිහට මරණ සතිය වඩපු උපාසක මහත්තයෙක් සහ මත් වතුර බීපු කෙනෙක් ඉන්නවා. මේ දෙන්න ළඟ තියල, කවුරු හරි පොල්ලක් අරගෙන ළඟට පැන්නොත් තොපි මරනවා කියල, මේ දෙන්නගෙන් කවුද නොබියව මරණයට ඉදිරිපත් වෙන්නෙ? මත් වතුර බීපු කෙනාද, එහෙම නැත්නම් වසර 30 - 40 සිල් සමාදන් වෙලා මරණ සතිය වඩපු උපාසක මහත්තයද? හිතල බලන්න. මත් වතුර බීපු කෙනා කියයි, යකෝ එක සැරයයිනෙ මැරෙන්නෙ පුළුවන් නම් මරපිය කියල. එහෙම කියල ඉදිරියට පනියි. වසර 30 - 40 ක් සිල් සමාදන් වෙලා ඇස් දෙක පියාගෙන මරණ සතිය වඩපු උපාසක මහත්තයා මරණයෙන් බේරෙන්න බයේ පැනල දුවනවා. ඇයි එහෙම වෙන්නෙ? එතකොට මරණ සතිය වැඩිල තිබුනෙ මත් වතුර බීපු කෙනාටද, නැත්නම් සිල් සමාදන් වෙලා ජීවිතය අනියතයි මරණය නියතයි මරණය මරණය කිය කියා ඇස් පියාගෙන භාවනා කරපු කෙනාටද?

ඒ නිසා ආර්ය මාර්ගය අනුගමනය කරන අය වශයෙන් අපි වඩන මරණ සතිය වෙනම තෝර ගන්න ඕන. ලෝක සම්මත ජනතාව වඩන ලෞකික අර්ථයෙන් යුක්ත අනාර්ය මරණ සතිය වෙනම තෝර ගන්න ඕන. දහම් මාර්ගය අනුගමනය කරන අපි කළ යුතු, වැඩිය යුතු මරණ සතිය ඕක නෙවෙයි. ජීවිතය අනියතයි මරණය නියතයි කියල දැනගෙන, ඒක ඇත්ත කියල වැටහුනාම, ඊට පස්සෙ මැරෙන්න ඉස්සෙල්ල කරන්න තියෙන දේ තෝරගෙන, බෞද්ධයෙක් නම් කරන්න තියෙන්නෙ මැරෙනවා



මැරෙනවා කියල ඇස් පියාගෙන හිත හිතා ඉන්න එකවත් කිය කියා ඉන්න එකවත් නෙවෙයි. **මැරෙන්න ඉස්සෙල්ල බණ දහම් අහල, ඒ අහගත්ත ධර්මය නිතර නිතර මෙනෙහි කිරීමත්, අරි අටගි මග වැඩීමත්, පූර්ණ කිරීමත් තමයි කළ යුත්තේ. මැරෙන බව දන්නව නම් කරන්න තියෙන්නෙ එච්චරයි.** ඒක දන්නෙ නැති අය තමයි, කරන්න කිව්ව දේ කරන්නෙ නැතිව ධර්මය සිහි කරන්නෙත් නැතිව, ජීවිතය අනියතයි මරණය නියතයි මරණය මරණය කිය කියා හිත හිතා ඉන්නෙ. ඒ විදිහට මරණ සතිය වඩ වඩා මුළු ජීවිත කාලයම ගත කළත් තියෙන ප්‍රයෝජනය මොකක්ද කියල නුවණින් මෙනෙහි කරල බලන්න ඕන.

ඒ වගේ තමයි සියල්ල අනිච්චයි දුක්ඛයි අනත්තයි කියන එකත් හරියට වර්තමානයේ යම් යම් ස්ථානවල මරණ සතිය වඩනවා වගෙයි. නමුත් එහෙම කරල බෑ. අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ධර්මතාවය ඇත්ත වුනාට ඒක කිය කියා ඉඳල හිත හිතා ඉඳල වැඩක් නෑ. ලෝකයේ සියල්ල අනිච්චයි දුක්ඛයි අනත්තයි නම්, ඒක ඇත්ත කියල තේරුනා නම්, අපි කළ යුතු එකම දේ තමයි අත්හැරීම, නොඇලීම, මිදීම සඳහා කටයුතු කිරීම. අපිට වෙන කරන්න දෙයක් තියෙනවද කියල අපිම හිතන්න ඕන. මේ කරුණු කාරණා සාකච්ඡා කරල තේරුම් ගත්ත අය අවංකව දකින්න ඕන, මේ ලෝකයේ දේවල් අල්ල ගත්තොත්, බදා ගත්තොත්, මම කර ගත්තොත්, මගේ කර ගත්තොත් තමයි මේ කියන සියලු ප්‍රශ්න එන්නෙ කියල. එහෙම දැකල දැනගෙන අත්හැරීමෙන් නොඇලීමෙන් මිදීමෙන් ලැබෙන සැනසීම දකින්න ඕන. එහෙම දැකල දැනුවත් වෙලා අත්හැරී නොඇලී මිදී යන මාර්ගය පූර්ණ කරන්න ඕන. එහෙම කටයුතු කරනකොට තමයි ආර්ය මාර්ගය පූර්ණ කරනව කියන්නෙ. ලෝකය කෙරෙහි ඡන්ද රාගය දුරු කරනකොට නිවනේ ආනිසංස සිහි කරන්න ඕන. එහෙම නැතිව සියල්ල අත්හරින ක්‍රමයක් සාසන මාර්ගයේ නෑ. ඒක අනාර්ය මාර්ගයක්, අනාර්ය ප්‍රතිපදාවක්, අසංඥ බඹ තලයට යන්න කරන වැඩපිළිවෙලක්. සාසන මාර්ගය තමයි ලෝකයට තියෙන ඡන්ද රාගය අතහැරීම.

බුද්ධ දේශනාව කියන්නෙ සියල්ල අත්හරින එක නෙවෙයි. බුදු දහමේ පෙන්වල තියෙන්නෙ, සසර ගමනට හේතු වෙන අවිද්‍යා ප්‍රත්‍යයෙන් හට ගන්න සංඛාර නිරෝධ කළ යුතුයි, ඒ වගේම කුසල මූල පච්චයා සංඛාරා කියන පැත්ත / කුසල මාර්ගය වැඩිය යුතුයි, ප්‍රගුණ කළ යුතුයි, නිතර නිතර භාවිතා කළ යුතුයි කියල. තවත් විදිහකින් කියනව නම්, ලෝකයේ අනිච්ච දුක්ඛ අනත්ත කියන්නෙ ආදීනව පැත්ත. සදාතනික සත්‍ය ධර්මතාවය දැන ගත්තම හැමවෙලාවෙම ආදීනව දකින්න ඕන, ආනිසංස පැත්ත වඩන්න ඕන.

එහෙනම් අනිච්ච දුක්ඛ අනත්ත කියන්නෙ ආදීනව පැත්ත. ආනිසංස පැත්ත තමයි අත්හැරීම නොඇලීම මිදීම. ඒක තමයි වඩන්න / සිහි කරන්න තියෙන්නෙ, ප්‍රගුණ කරන්න තියෙන්නෙ. මේ තියෙන සියලු කර්මස්ථානවලින් දැක ගන්නෙ දැන ගන්නෙ ආදීනව පැත්ත. නිතරම වඩන්නෙ ආනිසංස පැත්ත. ඒ සඳහා මූලික වශයෙන් දහම් අවබෝධයක් ලබා ගත්ත කල්‍යාණ මිත්‍රයෙක්ගෙ ඇසුරෙන් අනිච්ච දුක්ඛ අනත්ත කියන පද තුන ගැන පැහැදිලිව පිරිසිදුව නිවැරදිව අර්ථ විග්‍රහයක් ශ්‍රවණය කරන්න ඕන. මේ පද තුන ගැන මනා අවබෝධයක් ලබපු කෙනෙක් හැබෑ නම් ඔහුටම තේරෙනවා, ඊට පස්සෙ තමන් මොකක්ද කරන්න ඕන කියන කාරණය. සහනය සැනසීම විමුක්තිය නම්, අත්හැරීමයි නොඇලීමයි මිදීමයි කියල දැනගෙන නිවනේ ශාන්තිය දකිනවා. ඔහුට මේ ලෝකෙ ප්‍රධානම දේ නිවන සැනසීම වෙනවා. අනික් සියලු කාරණා දෙවෙනි තැනට පත් වෙනවා. එහෙනම් ඔහුට නිතරම සිහි වෙනවා, සිහි කරනවා, **අතහැරීම නාථයි - නොඇලීම නාථයි - මිදීම නාථයි - නිවනම නාථයි කියල.**

ඊළඟට මේ ලෝක සත්ත්වයන් ගැන දයානුකම්පාවක් ඇතිවෙනවා. මේ ලෝක සත්ත්වයෝ දහම් අවබෝධයකින් තොරව කටයුතු කරන නිසා, අවිද්‍යා තෘෂ්ණා සහගතව අනවබෝධයෙන් කටයුතු කරල අප්‍රමාණ දුක් දොම්නස්වලට මැදිවෙලා කටයුතු කරන ආකාරයත් ප්‍රඥා ගෝචරව දැකල, අනේ මම ලබපු අසීමිත සැනසීම සහනය විමුක්තිය සෙසු ලෝක සත්ත්වයන්ටත් ලැබෙනව නම් මොන තරම් වාසනාවක්ද, මොන තරම් භාග්‍යයක්ද කියල දැනගෙන දැකගෙන, මට ලැබුන අසීමිත සහනය සැනසීම සෙසු ලෝක සත්ත්වයන්ටත් ලැබෙත්වා කියල මෙත් වඩනවා. එහෙනම් **මට වගේම සියලු ලෝක සත්ත්වයන්ටත් අත්හැරීම වෙත්වා, නොඇල්ම වෙත්වා, මිදීම වෙත්වා, නිවනම වෙත්වා** කියල ආශිර්වාද කරනවා, සෙත් පතනවා. එසේම වෙත්වා කියල ප්‍රාර්ථනා කරනවා. මගේ පැතුම මගේ බලාපොරොත්තුව ඒකයි, මට ඊට වඩා ලෝක සත්ත්වයාට කරන්න දෙයක් නෑ. මම ලබපු මේ සැනසීම සියලු සත්ත්වයන්ටම වෙත්වා කියන සිතිවිල්ලෙන් යුක්තව ඔහු නිතරම කටයුතු කරනවා.

එහෙනම් දැන් අපිට මේ විග්‍රහය එකතු කරල ගොනු කරල සාරාංශ කරල කර්මස්ථානයක් හැටියට වඩන්න පුළුවන්. නිතර නිතර සිහි කරන්න පුළුවන්. **මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ අනිච්චයි දුක්ඛයි අනත්තයි...** කියල මේ විදිහට ආදීනව පැත්ත දකින්න ඕන. වචනවල දහම් අරුත් කාලයක් තිස්සේ යටපත් වෙලා තිබිල මෑත කාලයේ නැවතත් මතු වෙච්ච අලුත නිසාත්, මනසට තවම දහම් අදහස් හුරු පුරුදු මදි නිසාත්, එක පාරටම කරන්න ගියොත් කලකිරෙන්න පුළුවන් නිසාත්, ආධුනික පින්වතුන් ආදීනව පැත්ත එක වතාවක් සිහි කරල, අතහැරීම නාථයි නොඇල්ම නාථයි මිදීම නාථයි නිවනම නාථයි කියල ආනිසංස පැත්ත හතර වතාවක් සිහි කරනව නම් වඩා හොඳයි. හැබැයි පුරුදු අයට නම් එහෙම සීමාවක් නැතිව කැමති විදිහට කරන්න පුළුවන්. මේ විදිහට ආදීනව දකින්න ඕන, ආනිසංස සිහි කරන්න ඕන. **ලෝක සත්ත්වයන් වෙනුවෙන් කරන්න තියෙන එකම උදව්ව උපකාරය**

**පැතුම තමයි, මම මේ දහම් තුලින් ලබපු අසීමිත සැනසීම සහනය විමුක්තිය සියලු ලෝක සියලු සත්ත්වයන්ටත් වෙත්වා** කියල ආර්ය මෛත්‍රිය වැඩීම. එහෙනම් සෙසු ලෝක සත්ත්වයන්ටත් අත්හැරීම වෙත්වා නොඇල්ම වෙත්වා මිදීම වෙත්වා නිවනම වෙත්වා කියන අදහස අරගෙන කටයුතු කරන්න ඕන.

**මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ**

**අනිච්චයි දුක්ඛයි අනත්තයි**

**අතහැරීම නාථයි**

**අතහැරීම වෙත්වා**

**නොඇල්ම නාථයි**

**නොඇල්ම වෙත්වා**

**මිදීම නාථයි – මිදීම වෙත්වා**

**නිවනම නාථයි – නිවනම වෙත්වා**

මේ කමටහන ඕනම අවස්ථාවක ඕනම දේකට සම්බන්ධ කරල විදර්ශනා කරන්න පුළුවන් විශේෂ කමටහනක්. මේ කමටහන පිළිබඳව මූලික වශයෙන් දැනුවත් වුනාම, කෙනෙකුට අවස්ථානුකූලව විදර්ශනාවට යොදා ගන්න පුළුවන්. කෙනෙක් තමන්ට හිත රිදෙන්න කතා කරපු අවස්ථාවක් වුනොත්, මේ කමටහන මේ විදිහට විදර්ශනා කරන්න. මගේ කැමැත්ත, කෙනෙක්ගෙන් හිත රිදවන ජාතියේ යමක් අහන්න නෙවෙයි. මම කැමති නෑ එබඳු අවස්ථාවකට. නමුත් මට එබඳු අවස්ථාවක් ඇති වුනා. එහෙනම් කැමති සේ නැතිවීම තමයි මේ වෙලාවෙ සිද්ධ වුනේ. මම කැමති සේ නැති නිසා තමයි මගේ හිත රිදුනෙ. ඒකත් අනිච්චයි. කැමති සේ නොපැවතීම දුකයි. ඒක හොඳයි කියල අනුමත කරන්න බෑ. අනත්තයි අසාරයි. එහෙනම් අපි මොකද කරන්න ඕන? අත්හැරීම නොඇලීම මිදීම මිසක් වෙන මොනව කරන්නද? ඔය විදිහට එබඳු අවස්ථාවල අපිට මේ කමටහන වඩන්න පුළුවන්.

අපි තව උදාහරණයක් ගනිමු. යම් කෙනෙක් දිනපතාම ටික වෙලාවක් නමුත් මේ භාවනා කමටහන වඩනවා කියල අදහස් කරගෙන පළවෙනි දවසෙ කමටහන වැඩුව කියල හිතමු. දෙවෙනි දවසෙ වෙන් කර ගත්ත වෙලාවෙදි වෙනත් කෙනෙක් ඇවිත් බාහිර කටයුත්තකට තමන්ව එක් කරගෙන යනවා. එතකොට තමන්ට භාවනා කිරීම නතර කරන්න සිද්ධ වීම පිළිබඳ ද්වේශයට පත් නොවී, පීඩාවට අසහනයට පත් නොවී, අපිට පුළුවන් ඒ වගේ අවස්ථාවකදි මේ කමටහන එතනට ගැලපෙන විදිහට විග්‍රහ කරල ගන්න, විදර්ශනා කරන්න.

මගේ බලාපොරොත්තුව, කැමැත්ත දිනපතාම භාවනා කිරීම. නමුත් මේ වෙලාවෙ මට භාවනා කරන්න බැරි වෙනවා. මගේ කැමැත්ත, බලාපොරොත්තුව ඉටු වෙන්නෙ නෑ. එහෙනම් කැමති සේ නැති නිසා අනිච්චයි. කැමති සේ නැතිවීම දුකයි. කැමති සේ නොපවතින්නා වූ ලෝකය හොඳ දෙයක් කියල, හරවත් දෙයක් කියල, සාරවත් දෙයක් කියල අනුමත කරන්න බෑ. අසාරයි, අනත්තයි. එහෙනම් මම මොකද කළ යුත්තේ, අත්හැරීම නොඇලීම මිදීම මිසක් මට වෙන කරන්න දෙයක් නෑ. එහෙනම් එක වරක් හරි ඒ අවස්ථාව විදර්ශනා කරල එතැනින් පිටත් වෙලා යනවා. ඔය විදිහට හිතුවොත් අපි භාවනා නොකළ දවසක් තියෙයිද? නෑ. එහෙනම් ඔය ආකාරයට සෙසු අවශ්‍යතාවයන් සඳහාත් අවස්ථානුකූලව යොදාගෙන මේ භාවනා කමටහන වඩන්න පුළුවන්. මේ කමටහන අරිහත්වය පූර්ණ කිරීම දක්වාම වඩන්න පුළුවන් මහා විශේෂ කමටහනක් බව දකින්න ඕන.

ඒ වගේම කමටහනක් කියන්නෙ, කරන ලද විශේෂ දහම් විග්‍රහයක කැටි කළ සාරාංශයක්. ඒ වගේ විශේෂ දහම් සාකච්ඡාවලට සම්බන්ධ වෙන, සංසාරික හේතු වාසනා මත ඒ ඒ අයට ගැලපෙන ආකාරයට සමවතින් නැගෙන කමටහන් තමයි මේ තියෙන්නෙ. සමහර විට ඒ කමටහන් පොඩි පොඩි වෙනස්කම් ඇතිව ගෙතිල එන්නෙ ඒ ඒ අවස්ථාවෙ ඉන්න අයට ගැලපෙන ආකාරයට. ඒ නිසා හැකි තරම් දුරට ඒවා වෙනස් නොකර කමටහන් වැඩීමත් වඩා හොඳයි. එක කමටහනක් විග්‍රහ කර ගත්තම ඒ හා සමාන කමටහනුත් ඒ අනුසාරයෙන්ම දැනුවත් වෙලා වඩන්න ඕන. කල්‍යාණ මිත්‍ර උතුමෙක් සමග කරන ලද විශේෂ දහම් විග්‍රහයන් ශ්‍රවණය කරල දහම් අවබෝධයක් තියෙන කෙනෙක් මේ කමටහන වැඩීම විශේෂයි. එතකොට දහම් ප්‍රතිඵල ඉක්මන්. සෙසු අයත් කමටහන් වැඩීම හොඳයි. නමුත් ඉතින් ඒ අය දහම් අවබෝධයකින් තොරව කමටහන් වැඩීම ඒ තරම්ම සාර්ථක වෙන්නෙ නෑ. හරියට මහා දක්ෂ වෛද්‍යවරයෙක්ගෙ මහා වටිනා කියන බෙහෙත් සීට්ටුවක් කටපාඩමින් කියනවා වගේ වැඩක්.

අපි හිතමු කවුරුහරි දක්ෂ වෛද්‍යවරයෙක් ඉන්නවා. ඔහු පිළිකාවට හෝ අංශභාගයට හෝ මහා දරුණු රෝගයකට ප්‍රතිකාර කරන වෛද්‍යවරයෙක්. රෝගීන් සිය ගණනක් සුවපත් කළ ඒ දක්ෂ වෛද්‍යවරයගෙ වටිනා බෙහෙත් සීට්ටුව කෙනෙක් අතට පත් වෙලා, ඔහු ඒ බෙහෙත් සීට්ටුව කටපාඩම් කර ගන්නවා. ඔහු තමන්ට හමුවෙන අයට කියනවා, අහවල් වෛද්‍යවරයගෙ බෙහෙත් සීට්ටුව මම දන්නවා, මම ඔබට කියන්නම් අහගන්න, මේ බෙහෙත් සීට්ටුව ඔබට හොඳයි කියල. එහෙම කියල ඒක දෙනවා. දැන් ඔහු මොකද කරන්නෙ, ඒ බෙහෙත් සීට්ටුව කටපාඩම් කරගෙන තව කෙනෙකුට කියල දෙනවා, අහවල් වෛද්‍යවරයගෙ බෙහෙත් සීට්ටුව තමයි මේ, එතුමා රෝගීන් සිය ගණනක් සුවපත් කළ මහා දක්ෂ වෛද්‍යවරයෙක්, ප්‍රත්‍යක්ෂ බෙහෙත් සීට්ටුවක් තමයි මේ තියෙන්නෙ කියල. ඒ පුද්ගලයත් තවත් කෙනෙකුට ඔය විදිහටම කියනවා. දැන් බෙහෙත් සීට්ටුව අතින් අතට ගිහින් වෛද්‍යවරයගෙ ගුණ කියනවා, සුව කළ රෝගීන් ගණන කියනවා... ඔය විදිහට බෙහෙත් සීට්ටුව කටපාඩම් කරගෙන සෙසු අයට කියනවා. නමුත් කිසිම කෙනෙක් ඒ බෙහෙත් සීට්ටුවේ තියෙන ඖෂධ ටික කසාය කරල බීල නෑ. ඒ නිසා රෝගය සුව වෙලත් නෑ. රෝගය සුව වෙන්න නම් බෙහෙත් සීට්ටුව පරිහරණය කළ යුතුයි. ඒ ගැන වර්ණනා කර කර හිටියට, වෛද්‍යවරයාගේ ගුණ කිය කියා හිටියට හරියන්නෙ නෑ.

ඒ වගේ තමයි මේ අනිච්ච දුක්ඛ අනත්ත කියන වචන තුනත්. අපි කොහොම හරි ලියල තියෙන කොළයක් පොතක් දිහා බලල ඒවා කටපාඩම් කරගෙන තැන් තැන්වල කිය කියා ඇවිදිනවා. නමුත් ඉතින් ඒක එහෙම කරල බෑ. අපි මුලින්ම දහම් අවබෝධයක් තියෙන කල්‍යාණ මිත්‍රයෙක් මුණ ගැහිල මේ වචන තුන ගැන කතා කරල සාකච්ඡා කරල මූලික වශයෙන් දැනුවත් වෙන්න ඕන. ඊළඟට ඒ කරන ලද දහම් සාකච්ඡාව පැහැදිලියි පිරිසිදුයි නිවැරදියි මට තේරුනා කියල අදහස් ආව නම්, ඒක තමන්ගෙ ජීවිතයට සම්බන්ධ කරගෙන අත්හදා බලන්න ඕන. ඊළඟට ඒකෙන් යම් කිසි අත්දැකීමක් අවබෝධයක් ප්‍රතිඵලයක් ලැබුන නම් තමයි තවත් කෙනෙකුට කියල තේරුම් කරල දෙන්න ඕන.



අපි තවත් උපමාවක් අරගෙන තවදුරටත් තේරුම් ගනිමු. අපි හිතමු එක පරපුරක තියෙනවා රත්තරං මහා දම්වැලක්. පරපුරෙන් පරපුරට ඒක රැගෙන ඇවිත් වර්තමාන පරපුර අතර තමයි දැන් ඒක තියෙන්නෙ. මේ රත්තරං දම්වැල අයිති පරපුරේ ඉන්නවා දුවා දරුවන් කිහිප දෙනෙක් සමග මව්පිය දෙපළ. මේ පවුලෙ ඉන්න දරුවන් කිහිප දෙනාට විවිධාකාර මත, විවිධාකාර අදහස් තියෙනවා. ඒ අය අතර එක දරුවෙක් නීතිය සාමය ගැන හොඳට දන්නවා. තව දරුවෙක් බොහොම සාධාරණව හිතනවා, කටයුතු කරනවා. තවත් දරුවෙක් බොහොම ආත්මාර්ථකාමීයි. ඔහු තමන් ගැන විතරයි බලන්නෙ. තව දරුවෙක් බොහොම ත්‍යාගශීලීව අනෙක් අයට උදව් උපකාර කරමින් කටයුතු කරනවා. ඔය ජාතියේ විවිධ අදහස් තියෙන දරු පිරිසක් තමයි ඉන්නෙ.

කාලයගේ ඇවෑමෙන් මේ දරු පිරිස වැඩිහිටියන් බවට පත් වෙලා ඈත පළාත්වලින් ආවාහ විවාහ කටයුතු කරගෙන තැන් තැන්වල ජීවත් වෙනවා. මව්පිය දෙන්නත් බොහොම දුර්වලයි. ටික කාලයකින් පියා මියයනවා. පරපුරෙන් පරපුරට රැගෙන ආපු රත්තරං දම්වැල දැන් අයිති මවට. ඒක මව පණ වගේ ආරක්ෂා කරගෙන ඉඳල තව ටික කාලයකින් ඇයත් මියයනවා. දරුවන් සියලු දෙනාම එකතු වෙලා අවසන් කටයුතු කරල දින කිහිපයක් ගියාම ඔවුන්ට මතක් වෙනවා අර රත්තරං දම්වැල. සියලු දෙනාම එකතු වෙලා මේ ගැන කතා කරනවා. මම තමයි ගෙදර වැඩිමහල්, මට තමයි මේ පරපුරෙන් පරපුරට රැගෙන ආපු රත්තරං දම්වැල අයිති කියල වැඩිමහල් පුතා ඒක ඉල්ලනවා. නීතිය ගැන කතා කරන කෙනා කියනවා, එහෙම බෑ පරපුරෙන් පරපුරට රැගෙන ආපු මේ රත්තරං දම්වැල අපි සියලු දෙනාටම අයිතියි, ඒ නිසා සියලු දෙනාටම කොටස් කරල බෙදල දෙන්න ඕන මගේ කොටස මට දෙන්න කියල.

ගෙදර බාලම කෙනා කියනවා, ඔය කවුරුවත්ම අම්ම ගැන බලන්න හිටියෙ නෑ, මම තමයි අම්ම ගැන හොයල බලල සැළකුවෙ, අම්ම මැරෙනකොට මට ඕක දීල ගියා උඹ තියා ගනින් කියල, ඒ නිසා ඒක මට ඕන කියල. සමගිය සමාදානය බලාපොරොත්තු වෙන ත්‍යාගශීලී කෙනා මෙහෙම කියනවා. දැන් මේ සියලු දෙනාම රණ්ඩු සරුවල් හදා ගත්තෙ මේ රත්තරං දම්වැල බෙදා ගන්න. නමුත් මේ වෙන කල්ම කවුරුවත් මේක මැරෙන කොට අරගෙන ගියේ නෑ. තාත්ත තියාගෙන හිටියා, අම්ම තියාගෙන හිටියා, සීයා, ආතා... මේ ආදී සියලු දෙනාම අයිතිවාසිකම් කිව්වට ඒ අය සියලු දෙනාම මේ රත්තරං දම්වැල අරගෙන ගියේ නෑ. දමල ගියා. මැරෙනකොට කාටවත්ම ගෙනියන්න බැරි වුනා. ඒ නිසා ඔය ගැන හොයන්න බලන්න එපා, ඔය කතා සියල්ල අත්හරින්න කියල ඔහු කියනවා.

දැන් ඔය ජාතියේ විවිධ අදහස් ගති පැවතුම් තියෙන දූ දරු පිරිසක් ඉන්න තැනක මොන විදිහෙ ගාල ගෝට්ටියක් තියෙයිද? මහා කලබලයක් මහා රණ්ඩුවක් තියේවි. ඔය විදිහට කලබල කර ගන්න මහා ගාල ගෝට්ටියක් ඇති කර ගත්ත තැනට තව කෙනෙක් පිටින් එනවා. ඔහු අහනවා, මොකද ඔය කලබලය, ඇයි රණ්ඩු සරුවල් ඇති කරගන්නෙ කියල. ඒ අවස්ථාවෙ සියලු දෙනාම එකතු වෙලා සිද්ධ වෙච්ච සියලු සිදුවීම් ඒ ආගන්තුකයට කියනවා. ඔහු ඒ සියල්ල අහගෙන ඉඳල අවසානයේ කිව්වොත්, ඔය රත්තරං දම්වැලට අයිතිවාසිකම් කිව්ව කිසිම කෙනෙක් ඒක අරගෙන ගියේ නෑ, ඒ නිසා ඔය කතාව අත්හැරල දාන්න කියල ඒ රණ්ඩුව අවසන් වෙයිද? නෑ. ඔහු එහෙම කියල එතනින් පිටත් වෙලා යනවා. නමුත් ඉතින් ප්‍රශ්නය විසඳුනේ නෑ. රණ්ඩුව අවසන් වුනේ නෑ.

ඊළඟට එතනට තවත් වැඩිහිටි වයෝවෘද්ධ කෙනෙක් එනවා. බැලුවම මේ දරුවො සියලු දෙනාටම උගන්වපු ගුරුවරයා. ගමේ ගම් ප්‍රධානියා. හැම අතින්ම සැළකිය යුතු දැනුම් තේරුම් තියෙන වයෝවෘද්ධ ගුණවෘද්ධ උතුමෙක්. ඔහු දකිනකොටම එතන හිටපු සියලු දෙනාටම බොහොම ගෞරවයක් සැළකිල්ලක් විස්වාසයක් ඇති වෙනවා. ඒ නිසා සියලු දෙනාම එකතු වෙලා තම තමන්ගෙ අදහස කියනවා. රණ්ඩු සරුවල් ඇති වෙන්න හේතුව කියල යම් උපදේසයකුත් ඉල්ලනවා. ඒ වැඩිහිටි ගුරුවරයා මොකද කරන්නෙ, මේ සිද්ධ වෙලා තියෙන ගැටළු සහගත ප්‍රශ්නය ගැන අහල ඒ අයට මේ ප්‍රශ්නය විසඳගන්න උදව් කරනවා.

ඔහු මේ සියලු දෙනාගෙම අදහස් විමසල සියලු දෙනාටම කියනවා, හොඳයි මම මේ ප්‍රශ්නය විසඳල දෙන්නම් කියල. ඔහු අහනවා, හොඳයි මට කියන්න මුලින්ම මේ පරපුරෙන් පරපුරට ගෙනාපු මහා ඓතිහාසික රත්තරං දම්වැල ඇත්තටම රත්තරංද, කොහොමද එහෙම කියන්නෙ කියල. මේ අය කියනවා, අපේ පරපුරේ සියලු දෙනාම කිව්වා මේක රත්තරං කියල, ඒ නිසා තමයි අපිත් ඒක එහෙම කියන්නෙ කියල. දැන් ඒ ගුරුවරය මෙහෙම කියනවා. එහෙම කියල බෑ, මේ රණ්ඩුව විසඳන්න ඉස්සෙල්ල මම කියන්නම් ඔය දරුවන්ට මේක රත්තරං දම්වැලක්ද කියල මුලින්ම හොයල බලන්න. කවුරුවත් කිව්ව පළියට පිළිගන්න එපා. මම කියල දෙන්නම් රත්තරං පරීක්ෂා කරල බලන්නෙ මෙහෙමයි, රිදී පරීක්ෂා කරන්නෙ මෙහෙමයි, යකඩ පරීක්ෂා කරන්නෙ මෙහෙමයි... මේ ආදී වශයෙන් විවිධ ලෝහ වර්ග පරීක්ෂා කරන ක්‍රම රටාව ගැන කියල දෙනවා. මෙන්න මේ විදිහෙ උරගලක් තියෙනවා. මේ විදිහට උරගලේ උර ගාල බැලුවම රත්තරං නම් පිච්චෙන්නෙ නෑ. මේ මේ විදිහට පරීක්ෂා කරල බලන හැටි කියල දෙනවා. දැන් මේ සියලු දෙනාම දන්නවා විවිධ ලෝහ වර්ග පරීක්ෂා කරන ක්‍රමවේදය ගැන, දැන් ඔබලාට මම අවශ්‍ය නෑ, කැමති නම් පරීක්ෂා කරල බලන්න කියල, ඔහු එතැනින් පිටත් වෙලා යන්න යනවා.

දැන් මේ අය සියලු දෙනාම එකතු වෙලා කතා කර ගන්නවා, ඇත්ත තමයි කවුරු කිව්වත් අපි ඇත්තටම රත්තරං දම්වැල පරීක්ෂා කරල බැලුවෙ නැනෙ රත්තරංද කියල, ඒ නිසා අපි සියලු දෙනාම එකතු වෙලා මුලින්ම මේ කියල දීපු විදිහට පරීක්ෂා කරල

බලමු කියල. එක තැනකින් පරීක්‍ෂා කරල බැලුවා රත්තරං නෙවෙයි. තව තැනකින් බැලුවා, තවත් තැනකින් බැලුවා... මේ විදිහට මේ රත්තරං දම්වැල තැන් තැන්වලින් බැලුවා. හැමතැනදිම පිච්චුනා. දැන් මේ සියලු දෙනාටම වැටහෙනවා, මේ රත්තරං දම්වැලක් කියල පරම්පරා ගණනාවක්ම රැවටිලා ඉඳල තියෙන්නෙ රත්තරං දම්වැලකට නෙවෙයි කියල. ඔහොම තේරුම් ගත්තොත් ඒ සඳහා තවත් රණ්ඩු සරුවල් හදා ගනියිද? දැන් කිව්වොත් ඔබ තමයි අම්මට ඇප උපස්ථාන කළේ, අම්ම ඔබට තමයි රත්තරං දම්වැල දුන්නෙ, දැන් ඔබ මේක තියා ගන්න අපිට එපා කියල, ඔහු මොන විදිහට හිතයිද කියයිද? එහෙම නැත්නම්, ඔබ කිව්වනේ පරපුරෙන් ආපු වස්තුව සියලු දෙනාටම එක හා සමානව අයිතිය කියල, දැන් සියලු දෙනාටම කොටස් කරල ඔබේ කොටස ඔබ ගන්න කියල, නීතිය සාමය ගැන කතා කරපු කෙනාට කිව්වොත්, ඔහු මොනව හිතයිද කියයිද? එහෙම නැත්නම් වැඩිමහල් කෙනාට කියනවා, ඔබට අයිතියි කිව්ව නේද මේ රත්තරං දම්වැල ඔබ තියා ගන්න, අපිට එපා කියල, ඔහු මොනවා හිතයිද කියයිද?

මේ මේ විදිහට ඒ අයට කිව්වොත් මොන තරම් ලැජ්ජාවකට පත් වෙයිද? අපි දන්නෙ නැතිව මහා අමු යකඩ කැල්ලකට නේද රණ්ඩු වුනේ! දැන් මේ විදිහට හොයල බලල තේරුම් ගත්තට පස්සෙ ඒ අය තවදුරටත් මේ රත්තරං දම්වැල වෙනුවෙන් රණ්ඩු සරුවල් ඇති කරගනියිද? එහෙම නැත්නම් රණ්ඩු සරුවල් නතර වෙයිද? ඒ අයට දැන් රණ්ඩු සරුවල් නතර කරන්න කියල කියන්න ඕනද? මේ කිසිවක් කියන්න ඕන නෑ. රත්තරං නෙවෙයි කියල දැන ගත්තට පස්සෙ රණ්ඩු සරුවල් ඉබේම නතර වෙනවා. කවුරුවත් කිව්වට නතර කළා නෙවෙයි. හැබැයි මේ රත්තරං පරීක්‍ෂා කරන ක්‍රමය කියල දුන්නට පස්සෙ, ඒ විදිහට පරීක්‍ෂා කරල බැලුවෙ නැත්නම් රණ්ඩු සරුවල් නතර වෙයිද? පරීක්‍ෂා කරන ක්‍රමය දැන ගත්තට මදි, පරීක්‍ෂා කරල බලන්නම ඕන. නැත්නම් රණ්ඩුව අවසන් වෙන්නෙ නෑ.

ඒ වගේ තමයි, බුදු පියාණන් වහන්සේත් අපිට කියල දෙනවා රත්තරං පරීක්‍ෂා කරන ක්‍රමය. අපි මේ ලෝකෙ තියෙන දේවල්වලට ඉතා ඉහල වටිනාකමක් දීල රත්තරං වගේ කියල හිතාගෙන ඉන්නවා. ලෝකෙ තියෙන දේවල් පරීක්‍ෂා කරල බලන්න කියල අනිච්ච දුක්ඛ අනත්ත කියන උරගල බුදු පියාණන් වහන්සේ අපිට කියල දෙනවා. ඔබලා ඔය රත්තරං වගේ හිතාගෙන ඉන්න ජාති සියල්ලම මෙන්න මේ උරගලේ ගාල පරීක්‍ෂා කරල බලන්න ඒව රත්තරංද කියල. එතකොට ඔබලට තේරෙයි. එහෙම කියල උන්වහන්සේ වඩිනවා. අපි මොකද කරන්නෙ, රත්තරං පරීක්‍ෂා කරන ක්‍රමවේදය දැන ගත්තට පරීක්‍ෂා කළේ නැත්නම්, අපි අමු යකඩ කැල්ලකට රත්තරං කියල රැවටිලා ඒ සඳහා රණ්ඩු වෙනවා. රණ්ඩුව නතර වෙන්නෙ නෑ. හැබැයි පරීක්‍ෂා කරල බලපු නිසා ඇත්ත දැනගත්තට පස්සෙ රණ්ඩුව ඉබේම නතර වෙනවා.

බෙහෙත් සීට්ටුව මොන තරම් හොඳ වුනත්, දක්‍ෂ වෛද්‍යවරයා විසින් රෝගීන් සිය ගණනක් සුවපත් කළත්, ඔහුගේ ගුණ කොච්චර කිය කියා හිටියත්, තමන් ඒ බෙහෙත් පාවිච්චි කළේ නැත්නම් තමන්ගෙ රෝගය සුව වෙන්නෙ නෑ. රත්තරං පරීක්‍ෂා කරන ක්‍රමවේදය දැන ගත්තට, ඒ ගැන අනික් අයට කියල දුන්නට, තමන් පරීක්‍ෂා කරල බැලුවෙ නැත්නම්, රත්තරං කියල හිතාගෙන හිටියෙ අමු යකඩ කැල්ලකට බව වැටහෙන්නෙ නෑ. අමු යකඩ දම්වැල නිසා ඇති වුන රණ්ඩුව අවසන් වෙන්නෙ නෑ.

මේ වගේ බුදු පියාණන් වහන්සේ කියල දුන්න අනිච්ච දුක්ඛ අනත්ත කියන වචන තුන කිය කියා හිටියට වැඩක් නෑ. ලෝකයේ තියෙන දේවල් සියල්ල රත්තරං වගේ කියල හිතාගෙන ඒවා බදාගන්න, අයිති කරගන්න, මම කර ගන්න, මට කර ගන්න, මගේ කරගන්න දඟලන රණ්ඩු වෙන ස්වභාවය නතර කරන්න කියල කිය කියා හිටියට වැඩක් නෑ. රණ්ඩුව නතර වෙන්නෙ නෑ. තමන් ඒ පිළිබඳව අත්හදා බලන්නම ඕන. තමන්ගෙ ජීවිතයට එකතු කරගන්න ඕන. පෘතජ්ජනයා ලෝකයේ තියෙන සියල්ල රත්තරං වගේ කියල හිතාගෙන මම කරගන්න, මට කරගන්න, මගේ කරගන්න දඟල දඟල රණ්ඩු වෙනවා, වෙහෙසෙනවා, මහන්සි වෙනවා, ඒ සඳහා කටයුතු කරනවා. බුදු පියාණන් වහන්සේ දුන්න අනිච්ච දුක්ඛ අනත්ත කියන උරගලේ උර ගාල බැලුවොත් විතරයි තේරෙන්නෙ, ලෝකයේ සියල්ල රත්තරං වගේ වටිනව කියල හිතාගෙන හිටියට රත්තරං නෙවෙයි කියල. එහෙම පරීක්‍ෂා කරල බලල ඒ පිළිබඳව දැනුවත් වුනොත්, ලෝකයේ තියෙන කිසිම දේකට ගහ මරා ගන්නෙ කපා කොටා ගන්නෙ නැතිව කටයුතු කරන්න පුරුදු වෙනවා. ඒවා කවුරුවත් කිව්ව කියල නෙවෙයි අත්හැරෙන්නෙ, අවබෝධයත් එක්කමයි යම් අත්හැරීමක් නොඇල්මක් මිදීමක් වෙන්නෙ. කෙනෙක් කිව්වට නෙවෙයි. තමන් විසින්ම කරන ලද පරීක්‍ෂණයක ප්‍රතිඵලයක් විදිහට.

පොඩි ළමයි සෙල්ලම් ගෙවල් හදනවා. ඒ ළමයි කාලයක් යනකොට වැඩිහිටියන් බවට පත් වුනාම ඔවුන්ම තේරුම් ගන්නවා, සෙල්ලම් ගෙවල් හදන එක නිෂ්ඵල කාරණාවක් කියල. ඒ අවබෝධය තුලින් තමයි සෙල්ලම් ගෙවල් හදන එක අත්හැරෙන්නෙ. වැඩිහිටි අය කිසිම කෙනෙක් සෙල්ලම් ගෙවල් හදන්න එපා කියල නතර කරපු අය එක් කෙනෙක්වත් නෑ. සියලු දෙනාම සෙල්ලම් ගෙවල් හදන එක නිෂ්ඵල ක්‍රියාවක් කියල දැන ගත්තම අවබෝධ කර ගත්තම, ඊට පස්සෙ ඉබේම ඒ මානසිකත්වයෙන් ගිලිහිලා යනවා. ඒ වගේ තමයි, කළ්‍යාණ මිත්‍රයෙක් ඇසුරින් අනිච්ච දුක්ඛ අනත්ත කියන වචන තුන අහල නිවැරදිව තේරුම් අරගෙන, ඒ අනුව කටයුතු කිරීම තුලින් තමයි මේ රත්තරං වගේ කියල හිතාගෙන ඉන්න ලෝකෙන් අත්හැරී නොඇලී මිදී යන්නෙ. එහෙම නැතිව මේ පිළිබඳ පරීක්‍ෂණයක් නොකළොත් ඇත්ත වැටහෙන්නෙ නෑ. හරියට බෙහෙත් සීට්ටුව කටපාඩම් කරගෙන ඉන්නව වගේ තමයි. එහෙම බෑ. බෙහෙත් පාවිච්චි කළොත් තමයි රෝගය සුව වෙන්නෙ. ඒ වගේ තමයි ලෝකය කොච්චර අනිච්චයි දුක්ඛයි අනත්තයි කිය කියා හිටියත් අත්හැරෙන්නෙ නොඇලෙන්නෙ මිදෙන්නෙ නෑ.

එහෙනම් අපිත්, අපිට වටිනවා කියන සියල්ල කවදහරි බුදු පියාණන් වහන්සේ දුන්න උරගලේ උර ගාල බැලුවොත් තමයි රත්තරංද නැත්ද කියල දැන ගන්නෙ. එතකල් අපිටත් අවබෝධයක් ඇති වෙන්නෙ නෑ. ඒ නිසා මේ කර්මස්ථානයත් අහල කියල කතාබහ කරල සාකච්ඡා කරල කල්‍යාණ මිත්‍රයෙක්ගෙ මාර්ගයෙන් දැනුවත් වෙලා කටයුතු කළ යුතුයි. එහෙම නැත්නම් අපිටත් වෙන්නෙ රට පුරාම දුව දුවා අනික් අයටත් කිය කියා ඉඳල අවසානයේ කර කියා ගත්ත කිසිවක් නැතිව නිකම්ම මැරිල යන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් මගේ පැටළුනු තැන්

07 කොටස

**බු**දු දහමේ එන උත්තරීතර ඵල සහ නිවන ගැන අද වෙනකොට නොයෙක් පැටලිලි සහිතව වැරදි මත ඉදිරිපත් කරන බව පෙනී යනවා. ඇත්තටම පසුගිය කාල වකවානුවේ නිවන් මග එක්තරා ආකාරයකට යටපත් වෙලා තිබුන නිසා, නොයෙක් වැරදි ක්‍රම අනුගමනය කිරීමෙන් ලැබෙන ලෞකික අවස්ථාවලට මග ඵල සහ නිවන කියල රැවටීමෙන් ඒ වගේ තත්ත්වයක් ඇති වෙලා තියෙන බව පෙනී යනවා. ඒ නිසා ඒ ගැන ඒ පින්වතුන්ට දොස් කියන්න හොඳත් නෑ. අනන්ත සසර ගමනෙදි සිද්ධ වෙච්ච කර්ම දෝස නිසා එහෙම රැවටෙන්නත් හේතු යෙදෙනවා. නමුත් හරි මග අනුගමනය කරල නිවන් අවබෝධ කරගත්ත උත්තමයන්, ඒ ගැන අත්දැකීම් ඔස්සේ කරුණු කාරණා හෙළිදරව් කරනකොට, තමන්ට වැරදුන තැන් අවංකව හිතල බලල හදාගන්න හේතු වාසනා තියෙන පින්වතුන්ට අවස්ථාව ලැබෙනවා. ඒ වගේම හරි මග අනුගමනය කරන පින්වතුන්ටත් නිවන් මග පූර්ණ කරගන්න ඒ අත්දැකීම් බොහොම වැදගත්. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හෙළිදරව් කළ මග ඵලවල ස්වභාවය පෙන්වන විස්තරයක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නෙ.

මේ විස්තරයේ එන පළමු රූප සටහන බලන්න. තිතක් විදිහට මැද පෙන්වා තියෙන්නෙ විඥ්ඥාණ මාධ්‍යය. එතැන් පටන් තිත් ඉරිවලින් පෙන්වා තියෙන්නෙ හැම දිසාවටම අනන්තව විහිදිලා තියෙන දැන ගැනීමේ, විඳීමේ, රැස් කිරීමේ, පැතීමේ බලාපොරොත්තුව. අත්හැරීමක්, මිදීමක්, නොඇල්මක්, සිද්ධ නොවෙච්ච කෙනෙකුට නිවන පිළිබඳව අත්දැකීමෙන් ප්‍රත්‍යක්ෂයෙන් දැනෙන්නෙ නෑ. ඒ ඇයි?

1 රූපය




**පෘතග්ජන පුද්ගලයාගේ අසීමිත බලාපොරොත්තු නිසා නිරෝධ වෙච්ච දෙයක් වැටහෙන්නෙ නෑ.**

ඔහුට තියෙන අසීමිත බලාපොරොත්තු නිසා සීමිත වෙනකොට ඇතිවන වෙනස පේන්නෙ නෑ. යම් දවසක ලෝකය පිළිබඳව නිසරු බව හරියට වැටහිලා ගියොත්, මේ බලාපොරොත්තුවල වටිනාකම, බලාපොරොත්තු කෙරෙහි තියල තියෙන තක්සේරුව ඉතා පහල බහිනවා. ඒ කාරණය මේ විදිහට උපමාවකින් පෙන්වන්න පුළුවන්.

තෙතමනය තියෙන කොළයක ගෑවිලා තියෙන ජලය, කොළයෙන් බේරෙමින් ගිහින් අගට එකතු වෙලා බිංදු කාලක් බාගයක් එක් වුනත් වැටෙන්නෙ නෑ. ටික වෙලාවක් යනකොට ඒ කොළයටම ඇලිල ගෑවිලා තිබුන ඉතිරි ජලයත් ක්‍රමයෙන් අගට එකතු වෙලා ජල බිංදුව ලොකු වුනාම, ඒකෙ බැඳිල රැඳිල තිබ්බච කේෂාකර්ෂණයට ඔරොත්තු නොදෙන තරමට ලොකු වෙච්ච මොහොතක ඒ ජල බිංදුව වැටිල ගිහින් කොළය බරකින් නිදහස් වෙනවා. අන්න ඒ වගේ, හිතට ආකර්ෂණය වෙමින් තිබුන ආසාවන්, බලාපොරොත්තු බාර නොගැනීම නිසා පිටතට විසිවෙන්න උත්සාහ දරමින් තිබිල, බාර නොගැනීමේ ශක්තිය වැඩි වුනාම බලාපොරොත්තු විසිවීමේ ශක්තිය වැඩි වෙලා, ආකර්ෂණය වෙච්ච ශක්තිය ගිලිහිලා යන මොහොත එළඹෙනවා. මේ පළමු අවස්ථාවේ බලාපොරොත්තු විසි කර දමන්න රුකුල් දෙන, මගඵල ලාභී කළණ මිතුරෙක්ගෙන් චතුරාර්ය සත්‍ය ධර්ම දේශනාවක් ශ්‍රවණය කරන වෙලාවක, පරතෝඝෝෂක ප්‍රත්‍යය ලබල මේ විකර්ශන බලය අධික ලෙස වැඩිවෙලා, කාන්දමකට ඇදිල තිබ්බච දෙයක් ගැලවිලා විසි වෙනව වගේ, නැවත නොඇලෙන විදිහට අනුසය සමග ගැලවිලා විසිවෙලා යනවා. ඒ තමයි පළමු සෝතාපන්න මග ඵලය.

එතකොට ඒ අය ළඟ ඉතිරි වෙන්නෙ දැන ගැනීමේ බලාපොරොත්තුව පිළිබඳ වූ විඳීමේ සහ රැස් කිරීමේ බලාපොරොත්තුවත්, විඳීම පිළිබඳ වූ දැන ගැනීමේ රැස් කිරීමේ බලාපොරොත්තුවත් කියන මේවා විතරයි. ඉන් එහා තිබ්බච අනන්ත වූ පැතීමේ බලාපොරොත්තු අත්හැරිල විසි වෙලා හමාරයි. ඒ බලාපොරොත්තු නැවත කිසි දවසක ඒ හිතක පහල වෙන්නෙ නෑ. එතකොට ඔහුගේ බලාපොරොත්තුවලට සීමාවක් වැටෙනවා. ඒ සීමාවෙන් එහා මනෝමය වූ දැනීම්, හැඟීම්, විඳීම්, රැස් කිරීම් පිළිබඳ ආසා කිසිවක් නැති පරම ශූන්‍ය වූ ස්වභාවය වැටහෙනවා. එයින් එහා සීමාවේ තියෙන ඉතිරි බලාපොරොත්තු තවම තියෙන බව වැටහෙනවා. එතෙක් සසරේ නිසරුව සරුයි කියල ගත්ත අදහසින් පැන නැගුන අනන්ත බලාපොරොත්තු නිසා, කලින් හිතට නිතර ඇසුරට නැගුන මනෝමය වූ දැනීම්, හැඟීම්, විඳීම්, රැස් කිරීම්

ආදිය පිළිබඳවත්, සිතිවිලි පිළිබඳවත්, මොන අරමුණක් ඉදිරිපත් වුනත් ඒ කෙරෙහි මුළා සහගත තණ්හාවක් / ආසාවක් ඇති වෙන්නෙ නෑ. අරමුණු ඇසුරෙදි තිබ්ච්ච ඇලීම් ගැටීම් හෝ සැප, දුක්, මැදහත් විඳීමේ ආසාවන් හෝ කිසිවක් දැන් ඒ පිළිබඳව නෑ. පූර්ණව නිවන ප්‍රත්‍යක්‍ෂ කරන කල්ම කිසි විටෙකත් එහෙම දෙයක් ඇතිවෙන්නෙ නෑ. අරමුණු සොයා යමින් ඇසුරු කරමින් ඒ පිළිබඳව කලින් හට ගත්ත කැලඹෙන චිත්ත ස්වභාවය දැන් නෑ. ඒ කැලඹීම්, සැප දුක් සෙවීම් ආදිය ඉතිරි කොටසට සීමා සහිත වෙලා තියෙනවා.

මේ විදිහට කම්පා වෙන්න හේතු කොටසක් මතු කිසි විටෙකත් පහල නොවන නිසා, අතරක් නැති එකම සමාධියක් ඇතිවෙනවා. ඒ කියන්නෙ නැති වෙච්ච බලාපොරොත්තු මොහොතක් හෝ නැවත ඇතිවෙලා නැතිවෙනව නම් කම්පා සීමාව ඉක්මවල සමාධියේ පිරිහීමක්, වෙනසක් විය යුතුයි. නමුත් අනුසය සමග ගෙවී ගිය අසීමිත බලාපොරොත්තු පිළිබඳ මොන විදිහකින්වත් නැවත මතුවෙන්න හේතු නැති නිසා, මාර්ග ඵල මොහොතෙදි පටන් ගත්ත සමාධිය අතරමග වෙනස් වෙන්නෙ නෑ. ඒ නිසා ඒක ආනන්තරික සමාධියක් වෙනවා. මේ තමයි සෝතාපන්න සමාධිය.

සෝතාපන්න කෙනෙක්ගෙ බලාපොරොත්තු සීමා සහිතයි. ඒ සීමාව තුල තියෙන්නෙ දැන ගැනීමේ, විඳීමේ, රැස් කිරීමේ බලාපොරොත්තු විතරයි. අසීමිත බලාපොරොත්තු නිසා අනන්තව තිබ්ච්ච පැතුම් ඉවරයි. බුදු රජාණන් වහන්සේ නිය පිටට පස් ටිකක් අරගෙන ලෝකයේ ඉතිරි පස් සමග උපමා කරල, සෝවාන් පුද්ගලයට අත්හරින්න තියෙන කොටස මේ නිය පිට පස් වගේ බවත්, අත්හැරිල ගිය කොටස මේ මහ පොළොවෙ පසටත් වඩා විසාල බවත් දේශනා කරනවා. සෝවාන් පුද්ගලයා එතැන් පටන් පරප්‍රත්‍ය රහිතව මග වඩන්න දන්නා බවත් දේශනාවේ පෙන්වා තියෙනවා.

ඒ නිසා තමනුත් මාර්ගය දැනගෙන අන්‍යයන්ටත් නිසැක වූ හරි මග පෙන්වනවා. දේසනා කරනවා. ප්‍රත්‍යවේක්‍ෂා ඥාන තියෙනව නම් අත්දැකීම් සහිතව විස්තර කරල පෙන්වනවා. ප්‍රඥාවේ ඥානයේ තරමට දහමත් දෙසනවා.

**2 රූපය**



**සෝතාපන්න ස්වභාවය... දැන ගැනීමට, විඳීමට කරන රැස් කිරීම්වලට සීමා වූ බලාපොරොත්තු. කවයෙන් සීමා සහිත බව පෙන්වනවා. බලාපොරොත්තුවල අසීමිත බව සිඳී යාම නිසා නිරෝධය වැටහෙනවා**

මේ දෙවැනි රූප සටහනේ දක්වල තියෙන්නෙ සෝතාපන්න පුද්ගලයට ඉතිරි වෙච්ච බලාපොරොත්තු සීමා වෙච්ච ආකාරය. එයින් වැඩිමනත්ව තිබ්ච්ච ආසාවන්, මතකයන් හට ගන්න පෙර තිබ්ච්ච හේතු නැති නිසා එබඳු ඵල හට නොගන්නා ස්වභාවය වැටහෙනවා. ඒ තමයි නිවන් වැටහීම.

මීළඟට තියෙන්නෙ දෙවැනි ඵලය හෙවත් සකදාගාමී අවස්ථාව. සෝතාපන්න වීමෙන් අසීමිත පැතීම් අත්හැරියත් ඉතිරි වෙලා තියෙන දැන ගැනීම්, විඳීම්, රැස් කිරීම් පිළිබඳව බලාපොරොත්තු තියෙන නිසා දේපළ, ඉඩ කඩම්, මිල මුදල්, හරක බාන, යාන වාහන... ආදී සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ආදිය රැස් කරනවා. නමුත් පෙරට වඩා අඩු තක්සේරුවකින්. ඒවා කැඩෙන බිඳෙන විනාස වෙන දේවල් බවත්, මොහොතින් මොහොත ගෙවි ගෙවී ගිහින් විනාසයට පත් වීමේ ධර්මතාවයේ වහලෙක් විදිහටම, ගොදුරක් විදිහටම පහල වෙන දේවල් බවත්, ඒ වගේම කොහොම රැක ගන්න හැදුවත් ලෝක ස්වභාවය ජයගන්න බැරි විදිහට සියල්ල විනාස වෙන ධර්මතාවයෙන් යුක්ත දේවල් බවත් දකිමින් ක්‍රමයෙන් වැටහීම වර්ධනය වෙනවා. පාපය ඇසුරු කළොත් පාප ගතිත්, දේව සංඛාර ඇසුරු කළොත් දේව ගතිත්, මිනිස් ස්වභාවය ඇසුරු කළොත් මිනිස් ගතිත්, බඹ ලෝක ස්වභාවය ඇසුරු කළොත් බඹ ගතිත් පහල වෙන බවත්, ඒ ගති නිස්සාර වූ අනුරූප ජාති පහල කරන බවත්, ජාතිවල සාරත්වයක් නැති නිසා ඒවා සඳහා වෙහෙසීමත් හිස් ප්‍රතිඵල ඇති කරන බවත් (ඒ ජාති නිසරු බව දකින නිසා) දවසින් දවස වැටහෙනවා. ඒවාට උත්සාහ කරන, ඇළුම් කරමින් ගැටෙන, උඩගු වන අන්‍යයන් දකින කොට, එබන්දන් ඇසුරේ විසීම පවා දාහ ගෙන දෙන්නක් බවත්... ආදී වශයෙන් අනේකවිධ ආදීනව නිරායාසයෙන් ක්‍රමයෙන් දකින්න පටන් ගන්නවා.

මේ විදිහට දකින්න දකින්න, රැස් කරන දේ නිසා එන දුක, දාහය, නිසරු උත්සාහය ක්‍රමයෙන් වැටහෙමින් තවදුරටත් සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කෙරෙහි කලකිරෙනවා. කලකිරෙන කොට ක්‍රමයෙන් ආසාව අත්හැරෙනවා. අත්හැරෙනකොට නොඇලෙනවා. නොඇලෙනකොට මිදීමේ ආනිසංස දකින්න පටන් ගන්නවා. යම් මොහොතක රැස් කිරීමේ ප්‍රිය බව, මධුර බව ඉක්මවල මිදීමේ ශාන්තිය, සංසිඳීම් සුවය නැගී සිටින මොහොතක, රැස් කිරීම් කෙරෙහි තිබ්ච්ච සියලු බලාපොරොත්තු සුන් වෙලා ගිහින් සංසිඳීමේ පිහිටනවා. එතැන් පටන් අන්‍යයන්ගේ උවමනාවට හෝ කය පරිහරණයට නැතිව බැරි නිසා හෝ දුක දාහය දැනගෙන යමක් රැස් කරන්න පුළුවන්. නමුත් හැම මොහොතකම බලන්නෙ රැස් කිරීම් ඇසුරෙන් වෙන් වෙලා වාසය කරන්න. වෙන් වෙලා සිටීම ඔහුට සැනසීමක්, සංසිඳීම් සුවයක්. එබඳු අවස්ථාවල ඔහුට සැනසුම් සුවය දැනෙනවා. මේ තමයි සකදාගාමී ඵලය.

දැන් දැනගන්න, විඳින්න අවශ්‍ය දේ විතරක් ඒ වෙලාවට බලාපොරොත්තුවෙන ගතිය ඉතිරි වෙනවා. රැස් කිරීමේ, පැතීමේ බලාපොරොත්තුවල නිසරු බව හේතු සහිතව දැනගෙන ගිලිහිලා ගිය බව ඔහුට වැටහෙනවා. මුළාවෙන් අවිද්‍යාවෙන් යුක්තව හිටපු පෙර කාලයේ රැස් කිරීම වටිනා බව දැනුන නිසා ඇළුම් කළ බවත්, ඒ නිසාම ඒවායේ බැඳුන බවත්, ඒ නිසා පහල කළ බවත්, ඒවාට අනුරූපව ඒ ඒ ජාතිවල පිහිටපු බවත් දැනගන්නවා. දැන් අවිද්‍යාව දුරු වෙලා මුළාව පහ වෙලා තියෙන නිසා නිසරුව වැටහෙන බවත්, ඒ නිසා අත්හැරුන බවත්, ඇළුම් නැති බවත්, මිදුන බවත් වැටහෙනවා. හේතු නිරෝධ නිසා ඵල නිරෝධ බවත් වැටහෙනවා.

බලාපොරොත්තු නැති නිසා ඉතිරි වෙලා තියෙන ප්‍රමාණය විඳීමේ සහ දැන ගැනීමේ සීමාව නොඉක්මවන බවත් දැනෙනවා. රැස් කිරීමේ බලාපොරොත්තු සුන් වෙච්ච තැන්

පටන් රැස් කරන්න තිබිච්ච සියලු දාහ සංසිඳිල ගිය ආකාරයත්, එතෙක් කල් මුළාව අවිද්‍යාව නිසා මහත් දාහ ගින්නක් විඳිමින් ගෙවාගෙන ඇවිත් තිබුන බවත් වැටහෙනවා. මේ විදිහට අත්හැරුන බව, මිදුන බව සහ දාහ ගිනිවලට තිබිච්ච හේතුත් දකිමින් මහත් වූ මානසික ගින්නක් නිවිල ගිය බවත් වැටහෙනවා. තුන්වන රූපයෙන් පෙන්වන්නෙ පෙරට වඩා අඩු වූ සීමිත වූ බලාපොරොත්තුවල ඉතිරි ස්වභාවය.

3 රූපය



මේ විදිහට සකදාගාමී වෙච්ච ඔහු විඳීම් ඇසුරු කරනවා, දැන ගැනීම් ඇසුරු කරනවා. මේ විඳීම් අතරින් සහ දැන ගැනීම් අතරින් රැස් කිරීම් නිසා හට ගත්ත කොටස ගෙවිල තියෙනවා. ඉතිරි ලෝක තත්ත්වයන් කෙරෙහි දැනීමේ විඳීමේ බලාපොරොත්තු විතරක් තියෙනවා. ඔහු ඒ කොටස කෙරෙහි දැන ගැනීමේ යෙදෙනවා, විඳීමේ යෙදෙනවා. නමුත් අන්‍යයන් වගේ මහත් රුචියකිනුත් නෙවෙයි. ධර්මානුකූල මෙනෙහි කිරීම්වලට ගෝචර වෙලා ඒවායේ වටිනාකම ඉතා අඩු තක්සේරුවක පවතිනවා.

ධර්මානුකූලව සත්‍යය මෙනෙහි කිරීමත් ප්‍රබල වෙමින් පවතින නිසා, විඳීම් පිළිබඳ බලාපොරොත්තු වුනත්, වින්දනයේ ආස්වාදයන් ලැබුවත් ඒවා ඒ සමග ගෙවෙන ආකාරය දකිනවා. විඳීම කෙළවර වෙනවා. ඉතිරි වෙච්ච දෙයක් නෑ. ඒ බව හැම විඳීමකදිම ටික ටික වැටහෙන්න ගන්නවා. විඳීම්වලදි ඇසුර වෙනවා. විඳීමේ ආසා කරන අයට ගෝචර වස්තු තමන්ගෙ පරිහරණයටත් එක් කරගත යුතු බව වැටහෙනවා. ඒවා බල්ලන්ගේ ආහාරයට දාපු මස් කටු වගේ, උකුස්සන්ගේ ගොදුරු වගේ කාම පොර පිටියේ කොටස් බව වැටහෙනවා. ඒ වගේම ඇළුම් කරන වස්තු පරිහරණය නිසා වන කරදර බව, අසහනකාරී බව වැටහෙන්න ගන්නවා. ඒවා කැමති සේ නොපවතින බව පේනවා. පැහැර ගැනීම්වලට ලක් වෙන බව, වගකීම්වලට බැඳීමෙන් තමන් හිරවෙලා ඉන්න බව වැටහෙනවා. සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ඇසුරේ මිත්‍රකම්, සම්බන්ධකම්, අයිතිවාසිකම් තියාගන්න, රැකගන්න සිද්ධ වෙන ආකාරය වැටහෙනවා.

ඒවා මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත් වීම නමැති ලෝක ස්වභාවයේ වහලෙක්වම ගොදුරක්වම පහල වෙච්ච දේවල් බව වැටහෙනවා. වහල් බවින්ම ගොදුරු බවින්ම ඒ ලෝක ස්වභාවයේ රැකඩ බවින් යුතුව, කිසිම පිළිසරණක් නැතිව වැනසෙන හැටි පේනවා. ලෝක ස්වභාවයේ පාලනයකට යටත් වෙලා වැනසිලා යනව මිසක්, තමන් වසඟයේ පවතින්නෙ නැති බවත්, සාරත්වයක් ලබා නොදෙන හුදු ආස්වාද මාත්‍රයක් විතරක් ලැබෙන බවත් වැටහෙනවා. දූෂ්‍ය පුද්ගල ඇසුර, නොමනා පරිහරණ ඇසුර නිසා එන දාහයන් දැනෙනවා. ආස්වාද මාත්‍රයක රැවටිල්ලකින් මුළාවට ඇද දමමින් දුක් ගිනි තප්පවන මුළා ලෝක ස්වභාවයක් විදිහට වැටහෙන්න ගන්නවා. ඒවා තමන්ට අයිති වෙලා තියෙන්නෙ කාගෙවත් බලයකට යටත් වෙලා නෙවෙයි, රැවටීම නිසා ප්‍රිය මනාප වස්තු කියල හිතල ආසාව සෙවීම බැඳීම නිසා පහල කරගත්ත හේතු ඵල ධර්ම නිසා බව වැටහෙන්න පටන් ගන්නවා. හේතුව වූ ඇලීම බැඳීම නොකළ නම් මේවා පහල වෙන්නෙ නැති බවත් දැනගන්නවා. එතකොට ඒ නිදහස ගැන හිතෙනවා. කාම වස්තු පිළිබඳව ආදීනව දකින්නත්, අත්හැරීම, නොඇලීම, මිදීම නිදහස විදිහට ආනිසංස දකින්නත් පටන් ගන්නවා. ක්‍රමයෙන් කාමාස්වාදය ඉක්මවල සංසිඳීම් සුවය මහත්ව වැඩෙන්න ගන්නවා.

නිදහස, නිරෝධ බව නිසා වන සැනසීම කාමාස්වාදය ඉක්මවල නැගී සිටිනවද, කාම දුක, කාම ගින්න පූර්ණව වැටහෙමින් විඳීමේ බලාපොරොත්තු සුන් කරමින් නිදහසේ, සංසිඳීමේ, නිරෝධයේ පිහිටනවා. අනාගාමී වෙනවා. එතෙක් තිබිච්ච බලාපොරොත්තු අතර විඳීමේ බලාපොරොත්තු නැති වෙනවා. ලැබුන විදිහට ජීවත් වෙනවා. කාම ආස්වාදයෙන් ගිලිහුන නිසා කාම වස්තු විදිහට සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කෙරෙහි ඇලීම් බැඳීම් විදිහට හෙවත් තණ්හා උපාදාන විදිහට තිබිච්ච සම්බන්ධය නෑ. කාම වින්දන කෙළවර බව වැටහෙනවා. මගේ කියල අල්ල ගත්ත සියල්ල කෙළවර බවත් වැටහෙනවා. එතෙක් තිබිච්ච බලාපොරොත්තු නිසා වූ අසහනයත්, වින්දනයන් සඳහා ලෝකයට තිබිච්ච සම්බන්ධය හේතුවෙන් විඳපු ගින්නත්, දැන් හේතු නැති නිසා ඵල ඇසුරක් නැති නිසා නිවීමෙන් ලැබුන සැනසුමත්, නිදහස් වෙච්ච ආකාරයත් වැටහෙනවා. විඳීම සඳහා විසිරිලා තිබිච්ච දැන ගැනීමත් නැතිවෙලා ගිහින්, ශේෂ වෙලා ඉතිරි වෙච්ච දැන ගැනීම් මාත්‍රයේ දැන ගැනීමේ බලාපොරොත්තුව විතරක් ඉතිරි වෙනවා. කවුද? මොකක්ද? කොහොමද? කොහේද? කෙබඳුද? කොයින්ද?... ආදී ප්‍රශ්නාර්ථයක දැන ගැනීමේ බලාපොරොත්තු කොටසත්, කාමයෙන් තොර වූ තෙරුවන් ගුණ කතා, දර්ශන ආදී දැන ගැනීම්වලට සීමා වෙච්ච මමත්වයත් ඉතිරි වෙනවා. ඒ “මම” යන මාත්‍ර සම්බන්ධයෙන් ඇති දැන ගැනීම් බලාපොරොත්තු හැර ඉතිරි සියලු දැන ගැනීමේ, විඳීමේ, රැස් කිරීමේ, පැතීමේ බලාපොරොත්තු කිසිවක් නැති බවත්, හට ගන්න තිබිච්ච හේතු නැති නිසා ඒකෙන් හට ගන්නා ඵලයක් මතු නොවන බවත් වැටහෙනවා. හතර වන රූප සටහනින්, බලාපොරොත්තු නැති, ඒ නිසා හට ගන්න හේතු නැති, ඒ නිසා ඵලයක් විද්‍යමාන නොවන මිදුන ස්වභාවය සහ එබඳු හිත් පහල නොවන ස්වභාවයත්, පුද්ගලයත්වයත් පෙන්වනවා.

4 රූපය



මාර්ග ඵල පිළිබඳව ප්‍රත්‍යක්ෂයක් තියේ නම් කෙළවර දක්වාම නිරෝධ ස්වභාවය වැටහෙනවා. අනුමාන නුවණ නැගී සිටිනවා. ප්‍රත්‍යවේක්ෂා නුවණ තියේ නම්, විස්තරත් පැහැදිලිව ප්‍රකාශ කරන්න පුළුවන් ආර්ය ගුණ ආර්යන්ට පිහිටනවා.

මේ විදිහට මමත්වය නිසා යම් බලාපොරොත්තුවක් ඇති වෙනවද, පෘතජ්ජන අයගේ මමත්වය වගේ ඉතා බලවත් බවක් අනාගාමී අයට කිසි විටෙකත් නෑ. ඒ අයගෙ මමත්වයට තියෙන්නෙ ඉතා ස්වල්ප තක්සේරුවක්. යථාවබෝධය හේතු කොටගෙන නිස්සාර බවේ වැටහීම් ඉතා ප්‍රබල නිසා, මමත්වයෙත් නිසරු බව නිතරම වැටහෙන්න වෙනවා. මොකක්ද? කොහොමද?... ආදී විමසීම්වලදී ඒ පිළිබඳව ආසා ඇති කරන බලාපොරොත්තුව නිසා සෙවීම හෙවත් විමර්ශනයක් දැනෙනකොටම මෙබන්දකි, මෙසේය... ආදී තීරණයකින් එහාට බලාපොරොත්තු නැති නිසා සෙවීම සෙවීමකින් නවතිනවා. බැලීම බැලීමකින් නවතිනවා. ඇසීම ඇසීමකින් නවතිනවා. රස දැන ගැනීම දැන ගැනීමකින් නවතිනවා. සුවඳ දැනීම සුවඳ දැන ගැනීමකින් නවතිනවා. ස්පර්ශය ලැබීම ස්පර්ශ වටහා ගැනීමකින් නවතිනවා. විඳීම කරා යන්නෙ නෑ. ඒකත් කාම ලෝකයේ ඉතිරි වෙලා තියෙන ජීවිත පැවැත්මට හේතු වෙන කරුණු පිළිබඳව විතරයි. තෙරුවන් ගුණ වින්දනය ආස්වාද කෙරෙනවා. විරාගික බව, එබඳු අයගේ ගති ලක්ෂණ කෙරෙහි ආස්වාද කෙරෙනවා. එබඳු දේට මෙහෙය වීම් වෙනවා. එබඳු තැන් ඇසුරු කරනවා. විරාගී දහම් ගැන, ස්වභාවයන් ගැන කතාබහත් කෙරෙනවා. ක්‍රියාකාරීත් වෙනවා. ඒ ගැන බලාපොරොත්තු පවතිනවා. ඇසුරු කරන කොට කැමති බව වෙනවා. පැවැත්මේ අන්‍ය කටයුතු කෙරෙහි නැමී සිටින්නෙ නෑ. යම් විදිහකට පැවැත්මෙදි යෙදෙන්න සිද්ධ වුනොත් ආයාසයෙන් ක්‍රියා කරනවා. ඒවත් අසහනයක් විදිහට වැටහෙනවා. කාම වින්දනයන්ගේ බලාපොරොත්තු කොහොමටවත් නැතිවෙනවා.

හේතු ඵල සහ හේතු නිරෝධ, ඵල නිරෝධ මෙනෙහි කරල තියෙන පුරුද්ද නිසා, නිරායාසයෙන් වගේ දැන ගැනීමේ බලාපොරොත්තුව නිසා, සෙවීමේ ඇල්ම ඇතිවන ආකාරයත්, අරමුණු මුණගැහෙනකොටම දැන ගැනීමට සීමා වෙලා ඒ සඳහා අරමුණේ බැඳෙන ආකාරයත් මනා සේ වැටහෙනවා. ඒක දැන ගැනීමක් වුනත් ලැබෙන සාරත්වයක් නැති බවත්, කිසිම සාරත්වයක් ඉතිරි නොකර කෙළවර වෙන ආකාරයත් වැටහෙන්න ගන්නවා. තේරුමක් නැති සෙවිල්ලක් බව වැටහෙන්න ගන්නවා. මුළා වෙහෙසක් විතරක් බව වැටහෙන්න ගන්නවා. සෙවීම තියෙන කල් ඇස ප්‍රයෝජනයට ඇදිලා තියෙන ආකාරයත්, ඇසීම ක්‍රියාත්මක වෙලා පසුපස මෙහෙය වන නිසා කනේ පැවැත්මට හේතු තියෙන බවත් වැටහෙනවා. නාසය, දිව, ශරීරය හෙවත් ස්පර්ශ ආස්වාදය කෙරෙහි වින්දන බලාපොරොත්තු නැති නිසා ප්‍රසාද රූප හට ගන්න හේතු නැති බවත්, දැනීම් මාත්‍ර සංඥා තියෙන නිසා ආකාර ස්වභාවයක් විතරක් පහල වෙන්නත් හේතු තියෙන බවත් වැටහෙනවා. නිෂ්ඵල නිස්සාර බලාපොරොත්තුවක් නිසා කයක් දරන්න වෙන හැටිත්, ඒ නිසා නිරර්ථක රස්තියාදු පැවැත්මකට හිමිකම් කියන්න හේතු පවතින හැටිත් දවසින් දවස වැටහෙනවා. නිස්සාර ලෝකයක් හා පැවැත්මක් ඇසුරු කිරීම මුළාවම බව වැටහෙනවා. ක්‍රමයෙන් පැවැත්ම පිළිබඳව සෙවීම් බැලීම් කෙරෙහි බලාපොරොත්තු ගිලිහෙන්න පටන් ගන්නවා. හුදෙකලා බව ප්‍රිය කරනවා. ගිහි ඇසුර පිළිබඳ බලාපොරොත්තු ගිලිහෙනවා.

යම් ඇසුරකින් පැවැත්මේ දැන ගැනීමේ බලාපොරොත්තු ශේෂයක් වුනාද, දකින ලද දහම් නිසා, අවබෝධ කරන ලද චතුරාර්ය සත්‍යය නිසා, තව තවත් සත්‍යය පිළිබඳව ඇසුරු කළත්, ලෝකය පිළිබඳව සත්‍යයට නගල විමර්ශනය කළත්, අවබෝධය නිසා අත්හැරිය යුතු බලාපොරොත්තු අත්හැරිය නිසා, දහම් ආස්වාදයේ බලාපොරොත්තු තැබීමෙන් ඒ සඳහා පැවැත්මක් විද්‍යමාන වෙන බවත් වැටහෙනවා. ඒ දහම් ආස්වාදයේ ඇළුම් කිරීම නිසා ලබන්න තව සාරත්වයක් වැටහීමක් ඉතිරි නැති බවත් ක්‍රමයෙන් වැටහෙනවා. දහම් විමසන බලාපොරොත්තුවත් ක්‍රමයෙන් ගිලිහිලා යනවා. දැන ගැනීමේ බලාපොරොත්තු නැතිවෙනකොට ඇස, කන, නාසය, දිව, ශරීරය සහ මනස තමන්ට ප්‍රයෝජනයක් නැති බවත්, ඒ පැවැත්ම නිරර්ථක වෙහෙසක් බවත් වැටහෙන්න ගන්නවා. දැන ගැනීමේ, පැවැත්මේ නිරර්ථක දාහය වැටහෙන්න ගන්නවා. නැති බව, නොපැවැත්ම සැනසීම බව වැටහෙනවා. යම් මොහොතක නොපැවැත්මේ සංසිඳීම, පැවැත්මේ බලාපොරොත්තුව ඉක්මවල හිටියොත්, පැවැත්ම දෙවෙනි වෙලා නොපැවැත්මේ පිහිටනවා. තමන් පිළිබඳව කටයුතු තවත් නෑ කියල දැනගන්නවා. බලාපොරොත්තු සියල්ල කෙළවරයි. නිරෝධය පූර්ණව වටහා ගන්නවා. පෙනෙන බව තියෙනවා. බලන බව නෑ, බලන බලාපොරොත්තු නෑ. ඇහෙන බව තියෙනවා. අහන බව නෑ. ආග්‍රාණය දැනෙන බව තියෙනවා. ආග්‍රාණය කරන බව නෑ. රස දැනෙන බව තියෙනවා. රස විඳින බව නෑ. ස්පර්ශය දැනෙන බව තියෙනවා. ස්පර්ශය විඳින බව නෑ. හිතට දැනෙන බව තියෙනවා. සිතිවිලි හිතන බව නෑ. ඒ කිසිවක් පිළිබඳ බලාපොරොත්තු නෑ. පූර්ව කර්ම ඵලය ඇති බවත්, අනාගතයට ක්‍රියා ඵලයක් හට ගන්න හේතු නැති බවත් දැනගන්නවා.

ලෝකයේ යම් බැලීමක්, අහන බවක්, ආග්‍රාණය කරන බවක්, රස විඳින බවක්, ස්පර්ශ කරන බවක්, සිතිවිලි හිතන බවක් ඇති කරන්න වුනොත් ඒක ආයාසයකින් කරනවා. නමුත් ඒකෙ ඇලීම් බැඳීම් හෙවත් තණ්හා උපාදාන නෑ. මල මූත්‍ර පහ කිරීම්, කිළිටි සේදීම්, බඩගිනි වෙනකොට ආහාර සෙවීම්, පරෝපකාරයට දහම් දෙසීම් හෝ අනුකූල ක්‍රියා කිරීම්... ආදී දේත් ආයාසයෙන් කරනවා. එබන්දක් නොවන අවස්ථා තියෙනව නම් ඵල සමවත නිරායාසයෙන්ම නැගී සිටිනවා. අටලෝ දහමින් කම්පා වෙන්නෙ නෑ. නිශ්චලයි, ශාන්තයි, දාන්තයි. බිය නැති ගැනුම් නෑ. මේ තමයි උතුම් රහත් ඵලය.

5 රූපය



**තිත් ඉරි රූප ස්වභාවයෙන් පෙන්වන්නෙ පූර්ව කර්ම විපාක ඵලය. අර්හත් ඵලයේදී දැනීම් මාත්‍රය මිසක් බලාපොරොත්තු නිරෝධ ස්වභාවය**

ඒ වගේම ප්‍රභාස්වරත් වෙනවා. හැබැයි මේ ප්‍රභාස්වර බව ලෞකික වූ දැහැන් ලාභීන්ගේ චිත්ත ප්‍රභාස්වරත්වය නෙවෙයි. ඒක අරමුණක පිහිටවල ලබන එකක්. නමුත් රහතන් වහන්සේගේ චිත්ත ප්‍රභාස්වර බව කිසිම අරමුණක නොබැඳීමෙන් වෙනවා.

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



15 වන කොටස

**සංයුක්ත නිකාය - 5-1**

<u>උපඩ්ඪ සූත්‍රය - 5 පිටුව</u>

කළණ මිතුරන් අතර සිටින විට ආර්ය මාර්ගය වැඩෙන බවත්, බුදුන් වහන්සේ කළණ මිතුරෙක් ලෙස දෙසන මග දැන භික්ෂූන් නිවන් අවබෝධ කරන බවත් පෙන්වා ඇත. අනඳහිමියන්, සාසනයෙන් හරි අඩක් කළණ මිතුරන් යැයි පැවසූ විට බුදුන් වහන්සේ, අඩක් නොව මුළු සාසනයම යැයි පැවසුවා. විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමීව (නිවනට නැමී) අරි අටඟි මග වැඩිය යුතු බව පෙන්වයි.

<u>භික්ඛු සූත්‍රය - 13 පිටුව</u>

බ්‍රහ්ම චරියාව නම් ආර්ය අෂ්ටාංගික මග බව පෙන්වා ඇත.

<u>පරිසුද්ධ සූත්‍රය / දුතිය පරිසුද්ධ සූත්‍රය - 25 පිටුව</u>

ආර්ය අෂ්ටාංගික මාර්ගය බුදු සසුනෙන් බැහැර නැති බව පෙන්වා ඇත.

<u>බල සූත්‍රය - 107 පිටුව</u>

සීලයෙහි පිහිටා සීලය නිසා ආර්ය අෂ්ටාංගික මාර්ගය වැඩීම නම් විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමීව වඩන මග බව පෙන්වා ඇත. (සරු පොළොවෙහි පිහිටා බීජ වැඩෙන සේ මග වැඩෙන බව 109 පිටුවේ එන බීජ සූත්‍රයේ පෙන්වා ඇත. 117 පිටුවේ එන ආගන්තුක සූත්‍රයේ, සමථයත් විදර්ශනාවත් වඩන මගද මෙසේම බව පෙන්වා ඇත.)

<u>උද්ධම්භාගීය සංයෝජන සූත්‍රය - 139 පිටුව</u>

උද්ධම්භාගීය සංයෝජන (රූප රාග, අරූප රාග, මාන, උද්දච්ච, අවිද්‍යා) දුරු කරන්න ආර්ය අෂ්ටාංගික මාර්ගය වැඩිය යුතු අයුරු පෙන්වා ඇත.

<u>අනීවරණ සූත්‍රය - 191 පිටුව</u>

බණ අසන අරි සව් හට පංච

---

ඒකෙ කෙළෙස් අනුසයක්වත් නෑ. මේ අරිහත් ඵල හිත නිවන නෙවෙයි. සංසාරයේ ධ්‍යාන ඵල ලෞකිකව වඩල තිබ්ච්ච අයට නිරායාසයෙන්ම දැහැන් ලැබෙනවා. නිරුත්සාහයෙනුත් පහල වෙනවා. නිරෝධ සමවතින් ඒ අත්බැව තුලම නිවන් නිදහස ලබන්න පුළුවන් වෙනවා. ඒකත් පූර්ණ නිරෝධය නෙවෙයි. ඒ අත්බැවේදී විඳින්න පුළුවන් උපරිම නිවීම. පූර්ව කර්ම විපාක ඵල පරම්පරාවක් වූ රහත් උතුමන්ගේ ඒ අත්බැව යම් දවසක කෙළවර වෙනවද, මතු පහල කරන කර්ම ඵලයක් නැති නිසා අනන්තයේ පටන් ආ සංසාර ගමන කෙළවරයි.

උන්වහන්සේගේ ජීවමාන කාලයේ බලාපොරොත්තු අත්හැරුන නිසා, හේතු හෝ ඵල හෝ පහල නොවෙන බව දැනෙනවා. අත්හැරුන බව, මිදුන බව සහ මිදුන කොටසේ පරම ශූන්‍යතාවය වැටහුනේ හිතට. අරිහත් ඵල හිතේදි ඉතා පැහැදිලිව වැටහෙනවා. මේ නිරෝධ ස්වභාවය අනුපදිශේෂ නිර්වාණයෙන් පසු පූර්ණ බව, හිතක පවතින අනාගත තතු බලන වැටහීම් නුවණින් ප්‍රත්‍යක්ෂව වටහා

**<u>6 රූපය</u>**

ගන්නවා. නමුත් අරිහත් ඵල හිත රහතන් වහන්සේගෙ චුති චිත්තයෙන් කෙළවර වෙන නිසා පූර්ණ නිරෝධයට ගිය කෙනෙක් හෝ යම් සිතකින් පැනවීමක් හෝ සිද්ධ වෙන්නෙ නෑ. හිත කෙළවරද, පූර්ණ නිරෝධය වුන බව අරමුණු කරන හිත නෑ. හිතත් ගතත් නොවූ තැන පරම ශූන්‍ය බව හෙවත් පූර්ණ නිරෝධය බව ජීවමානව ඉඳෙද්දි අනාගත තත්ත්වය සිහි කරලම වටහා ගන්නවා. චිත්ත ප්‍රවෘත්තිය සහ රූප පරම්පරාව නිරෝධ වීමෙන් පූර්ණ නිරෝධය සිද්ධ වෙලා තියෙන බව ජීවමානව වැඩ ඉන්න දිවැස් තියෙන රහතන් වහන්සේලාට පේනවා. පේනවා කියල කිව්වෙ, කෙළවර වුනාම පරම ශූන්‍ය බව. හය වැනි රූපයේ දැනීම පෙන්වන තිත නැති බව ඒ කොටුව බලනකොට පේනවා. හිතත්, සියලු බලාපොරොත්තුත්, අළුත් හට ගැනීමක්, පූර්ව කර්ම විපාක ඵල පරම්පරාවත් නැති බව ඒ කොටුව බලල වටහා ගත යුතුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

නීවරණ දුරු වී, සප්ත බොජ්ජංග ධර්ම වැඩී නිවන් දකින බවත් පෙන්වා ඇත.

**පරියාය සූත්‍රය - 211 පිටුව**

පංච නීවරණ 10 ක් වන අයුරුද, සප්ත බොජ්ජංග 14 ක් වන අයුරුද පෙන්වා ඇත.

**පංච නීවරණ 10 ක් වන අයුරු**

1. අධ්‍යාත්මික කාමච්ඡන්දය
2. බාහිර කාමච්ඡන්දය
3. අධ්‍යාත්මික ව්‍යාපාදය
4. බාහිර ව්‍යාපාදය
5. ථීනය
6. මිද්ධය
7. උද්දච්චය
8. කුක්කුච්චය
9. අධ්‍යාත්මික විචිකිච්ඡාව
10. බාහිර විචිකිච්ඡාව

**සප්ත බොජ්ජංග 14 ක් වන අයුරු**

1. අධ්‍යාත්මික සතිය
2. බාහිර සතිය
3. අධ්‍යාත්මික ධම්ම විචය
4. බාහිර ධම්ම විචය
5. කායික වීර්ය
6. මානසික වීර්ය
7. සවිතක්ක සවිචාර ප්‍රීතිය
8. අවිතක්ක අවිචාර ප්‍රීතිය
9. කාය පස්සද්ධිය
10. චිත්ත පස්සද්ධිය
11. සවිතක්ක සවිචාර සමාධිය
12. අවිතක්ක අවිචාර සමාධිය
13. අධ්‍යාත්මික උපේක්‍ෂාව
14. බාහිර උපේක්‍ෂාව

මේ සූත්‍රයට අනුව, බුදු පියාණන් වහන්සේ පහල වීමට පෙර ලෞකික අදහසින් පංච නීවරණ සහ සප්ත බොජ්ජංග තිබූ බව පෙනේ.

**අග්ගි සූත්‍රය - 217 පිටුව**

සිත සැඟවුනු කල්හි ධම්ම විචය, ප්‍රීති, වීර්ය බොජ්ජංග වැඩිය යුතු බවත්, වියලි දේවල්වලින් පහසුවෙන් ගිනි උපදවන ලෙස උපමා කර ඇත.

සිත විසිරුනු කල්හි පස්සද්ධි, සමාධි, උපේක්‍ෂා බොජ්ජංග වැඩිය යුතුයි. මහත් සේ දැල්වෙන ගින්න පාලනයට ජලය, තෙත දේ, වැලි යොදන්නාක් මෙනි. සතිය හැම කල්හි තිබිය යුතුය.

**මෙත්ත සූත්‍රය හෙවත් හලිද්දවසන සූත්‍රය - 219 පිටුව**

නියම මෛත්‍රී භාවනාව ඇත. සතර බ්‍රහ්ම විහරණ පිළිබඳව ලෞකික අදහස බුද්ධ කාලයට පෙරද තිබූ බවට සාක්ෂියකි.

**කුසලරාසී සූත්‍රය - 267 පිටුව**

පංච නීවරණ අකුසල රාසියයි. සතර සතිපට්ඨානය කුසල රාසියයි. විස්තර ඇත.

**ගිලාන සූත්‍රය - 277 පිටුව**

බුදුන් වහන්සේගේ අසූ වියේ කය ඉතා දුර්වලව ඇති බවත්, එබැවින් සතර සතිපට්ඨානයෙන් කල් ගෙවීම, භික්ෂූන්ට තමා සරණ කර පිහිට කර ධර්මය පිළිසරණ කර අන් සරණකින් තොරව විසීම බවත් පෙන්වයි.

**භික්ඛුනුපස්සය සූත්‍රය - 281 පිටුව**

සිත පිහිටුවා වැඩීම හා නොපිහිටුවා වැඩීමත්, ධ්‍යාන කරන්න අනුසාසනා කළ අයුරුත් සඳහන් වේ.

**සේදක සූත්‍රය - 303 පිටුව**

අනුන් රැකීම සහ තමන් රැකීම යනු තම තමන් සතර සතිපට්ඨානයේ යෙදීමයි. සැඩොල් ඇදුරාගේ කරට නැගී ඔහු අතේ ඇති උණ ගස උඩ සිට තෙල් බඳුන නොසැලී රකින අතවැසි උපමාවෙන් මෙය පෙන්වා ඇත. ඇදුරාගේ කටයුත්ත ඔහු හරියට කිරීමෙන්ද, අතවැසියාගේ කටයුත්ත ඔහු හරියට කිරීමෙන්ද දෙදෙනාම රැකෙන මෙනි.

**පදේස සූත්‍රය සහ සමත්ත සූත්‍රය - 313 පිටුව**

සතර සතිපට්ඨානය කොටසක් වැඩූ බැවින් සේඛ කියාද, සහමුලින් වැඩූ බැවින් අසේඛ කියාද කියනු ලැබේ.

**සතෝ සූත්‍රය හා කුසල රාසී සූත්‍රය - 335 පිටුව**

සිහි ඇතිව විසීම සතර සතිපට්ඨානයෙන් විසීම බවත්, කුසල රාසිය නම් සතර සතිපට්ඨානය බවත් පෙන්වා ඇත.

**දුච්චරිත සූත්‍රය - 337 පිටුව**

කුසල දහම්හි මුල පිරිසිදු කිරීම සහ සීලය නිසා සීලයෙහි පිහිටීම නම් ත්‍රිවිධ සුචරිතය බවත්, එහි සිට සතර සතිපට්ඨානය වැඩීමෙන් මග වැඩෙන බවත් පෙන්වයි.

**උද්ධම්භාගීය සූත්‍රය - 345 පිටුව**

උද්ධම්භාගීය සංයෝජන පහ සහ එය පහ කිරීමට සතර සතිපට්ඨානය වැඩිය යුතු බව පෙන්වයි.

**විභංග සූත්‍රය - 351 පිටුව**

ඉන්ද්‍රිය 5 විස්තර කර ඇත. සතින්ද්‍රියට, ඉතා පෙර කළ කී දේ පවා සිහි කළ හැකි බවත්, සමාධි ඉන්ද්‍රිය නිවන මුල් කර ලබන සමාධිය බවත් පෙන්වා ඇත.

**සංඛිත්ත සූත්‍රය - 357 පිටුව**

පංචේන්ද්‍රිය (ශ්‍රද්ධා, වීර්ය, සති, සමාධි, ප්‍රඥා) පූර්ණ වීමෙන් අරිහත්වයත්, ඊට වඩා මොළොක් නම් අනාගාමී බවත්, ඊට මොළොක් නම් සකදාගාමී බවත්, ඊට මොළොක් නම් සෝතාපන්න බවත්, ඊට මොළොක් නම් ධම්මානුසාරී බවත්, ඊට මොළොක් නම් සද්ධානුසාරී බවත් පෙන්වයි. මෙසේ ඉන්ද්‍රිය නානත්වයෙන් ඵල නානත්වයද, ඵල නානත්වයෙන් පුද්ගල නානත්වයද වේ. 361 පිටුවේ එන පටිපන්න සූත්‍රයේ, යමෙකුට මේ ඉන්ද්‍රියන් මුළුමනින් සියලු අයුරින් නැත්ද ඔහු පුහුදුන් කෙනෙක් බව කියා ඇත.

**සෝතාපන්න සූත්‍රය - 367 පිටුව**

චක්ඛු ඉන්ද්‍රිය ආදී ඉන්ද්‍රියන් හය පිළිබඳව සමුදය, අත්ථගමය, ආස්වාදය, ආදීනවය, නිස්සරණය තතු සේ දනීද ඒ ආර්ය ශ්‍රාවක සෝතාපන්නයෙකි.

**උප්පටිපාටික සූත්‍රය - 379 පිටුව**

දුක්ඛ ඉන්ද්‍රිය, දෝමනස්ස ඉන්ද්‍රිය, සුඛ ඉන්ද්‍රිය, සෝමනස්ස ඉන්ද්‍රිය, උපේක්ඛා ඉන්ද්‍රිය යනුවෙන් ඉන්ද්‍රියන් 5 කි.

ප්‍රථම ධ්‍යානයට පැමිණ දුක්ඛ ඉන්ද්‍රියත්, ද්විතීය ධ්‍යානයට පැමිණ දෝමනස්ස ඉන්ද්‍රියත්, තෘතීය ධ්‍යානයට පැමිණ සුඛ ඉන්ද්‍රියත්, සිව්වෙනි ධ්‍යානයට පැමිණ සෝමනස්ස ඉන්ද්‍රියත්, සංඥා වේදයිත නිරෝධයට පැමිණ උපේක්ඛා ඉන්ද්‍රියත් නිරෝධ කරයි. මෙසේ සිව්සස් දහම් පරිදි දකිමින් ඉන්ද්‍රියන් 5 නිරෝධ කරයි.

**උණ්ණාභ බ්‍රාහ්මණ සූත්‍රය - 385 පිටුව**

චක්ඛු ඉන්ද්‍රිය ආදී පහ ඔවුනොවුන්ගේ අරමුණු විෂය නොවිඳිත්. මෙම ඉන්ද්‍රියන්ට මනස පිළිසරණ වේ. මනසට සතිය පිළිසරණයි. සතියට විමුක්තිය පිළිසරණයි. විමුක්තියට නිවන පිළිසරණයි. නිවනට කුමක් පිළිසරණ දැයි ඇසූ විට, බමුණ ඔබ ප්‍රශ්නය ඉක්මවා ගියේ යැයි වදාළේය. නිවන බඹසර කෙළවර කොට ඇත.

**උප්පාද සූත්‍රය - 411 පිටුව**

සද්ධා ඉන්ද්‍රිය, විරිය ඉන්ද්‍රිය... ආදී ඉන්ද්‍රියන් 5 බුදු පියාණන් වහන්සේ පහල වෙන්න පෙර නැත. මේ සසුනින් බැහැරද නැත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ XII



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 83**

## ලෝකයාට හෙළි නොවූ තවත් විස්මිත ප්‍රතිකර්ම

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක ඉඳගෙන උපාසක මහත්තයෙක් විදිහට කටයුතු කරත්දිත්, ඊට පසුවත් සිද්ධ කරපු විස්මිත ප්‍රතිකර්ම සම්බන්ධයෙන් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් ලබපු අත්දැකීම්වල තවත් කොටසක් තමයි මේ හෙළි කරන්නෙ.

වහරක අබේරත්න උපාසක මහත්තය ගිහි වතේ ඉඳෙද්දි වගේම පැවිදි වුනාට පසුවත්, නිතර නිතර දහම් මාර්ගය ප්‍රගුණ කරන ගමන් අත්දැකීම් ලබාගෙන තමයි තමන් ළඟට එන ගිහි පැවිදි සියලු දෙනාටම ලෞකික වශයෙන් වගේම ලෝකෝත්තර වශයෙනුත් විවිධාකාරයෙන් උදව් උපකාර කළේ. වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ නව ඉදි කිරීම් කටයුතු කරපු මුල් කාලයේ වුනත්, විවිධ පළාත්වලින් බොහෝ බැතිමතුන් ඇවිත් ඒ ඉදි කිරීම් කටයුතුවලට සම්බන්ධ වෙලා කටයුතු කරනකොට ඇති වෙච්ච බාහිර මහා ඝෝෂාකාරී පරිසරය තුල පවා උන්වහන්සේ දවසකට පැය 16 - 17 ක තරම් අති දීර්ඝ කාලයක් භාවනා කිරීම වෙනුවෙන් වෙන් කළා. ඉතිරි කාලය තුලදි වෙනත් අවශ්‍යතාවයන් සහ විවිධ ඉදි කිරීම් කටයුතු සඳහා උපදෙස් ආදිය ලබා දෙන්න කටයුතු කළා. ඒක අපි පෞද්ගලිකවම දන්න කාරණයක්. කොහොම වුනත් උන්වහන්සේ පැවිදි ජීවිතයට ඇතුලත් වෙලා වසර 4 - 5 ක් වගේ බොහොම කෙටි කාලයක් තමයි තරමක් හරි නිරෝගීව කටයුතු කළේ. පසු කාලයේ වරින් වර ඇති වුන කායික රෝගී තත්ත්වයන් මත උන්වහන්සේට රෝහල්ගත වෙලා නේවාසිකව ප්‍රතිකාර පවා ලබා ගන්න සිද්ධ වුනා.

රෝහලේ නේවාසිකව ප්‍රතිකාර ලබා ගන්නකොට පවා දවසේ වැඩිපුර කාල වෙලාවක් භාවනායෝගීව තමයි කටයුතු කළේ. උන්වහන්සේ මේ ජීවිත කාලයේම අතිවිසාල ජනකායක් වෙනුවෙන් බෙහෙත් හේත් ප්‍රතිකාර කරමින් විවිධ රෝගීන් සුවපත් කළත් තමන් වහන්සේටත් රෝගී වෙන්න සිද්ධ වුනා. ඒ සඳහා හේතු වෙච්ච, සංසාරික අත්බැව්වලදි අනවබෝධයෙන් කරන ලද අකුසල කර්ම විපාක වගේම, අවසන් අත්බැව් ගත කරන අවස්ථාවලදි ඒවාට මුහුණ දෙන්න සිද්ධ වෙච්ච ආකාරයත්, සසර භයානකත්වය පෙන්වන මහා කුතුහලය දනවන අතීත සිදුවීම් ආදිය පිළිබඳවත් අපිත් එක්ක මතක් කළ අවස්ථා ඕන තරම් තියෙනවා.

උන්වහන්සේ එක අවස්ථාවක රෝහලක නේවාසිකව ප්‍රතිකාර ලබමින් ඉන්න කොට සිද්ධ වෙච්ච විශේෂ සිදුවීමක් අපිත් එක්ක මේ විදිහට මතක් කළා. මම හිටපු ඇඳ ආසන්නයේම වෙනත් ඇඳක තවත් එක්තරා රෝගියෙක් ප්‍රතිකාර ලබමින් හිටියා. ඒ රෝගියා දින ගණනාවක පටන්ම අසාධ්‍ය තත්ත්වයෙන් ඉඳල තියෙන්නෙ. විවිධ ප්‍රතිකාර කරමින් හිටියත් එන්න එන්නම ඔහුගේ රෝගී තත්ත්වය වැඩි වෙච්ච නිසා, රෝහල් කාර්ය මණ්ඩලය සහ වෛද්‍යවරු වෙනත් රෝගීන්ට වඩා සැළකිල්ලෙන් ඕනෑකමින් ප්‍රතිකාර කළා. නිතර නිතර මහා කලබලයෙන් වගේ ඔවුන් එහෙ මෙහෙ යනවා. වෛද්‍යවරු රෝගියාගේ ඥාතීන්ට කියල තිබුනා, රෝගියා සුවපත් කරන්න බෑ, රෝගියා වෙනුවෙන් කරන්න පුළුවන් සියලු ප්‍රතිකාර නොනවත්වාම දිගටම කරනවා කියල. ඒ නිසා රෝගියාගේ ඥාති හිත මිත්‍රාදීන් පවා මහා කලබලයෙන් වගේ නිතර නිතර ඇවිත් මහා සංවේගයෙන් අඬා වැටෙමින් වැළපුනා.

මම නිතර නිතර භාවනායෝගීව කමටහන් වඩමින් හිටියත්, ඒ අවස්ථාවෙ මගේ ඇඳ ළඟ ආසන්න ඇඳේ ඉන්න අසාධ්‍ය රෝගියා දිහාත් සමාධියෙන් යොමු කරල බැලුවා. එතකොට මම දැක්කා, ඒ වෙලාවෙ ගුප්ත ලෝකයේ මහා විසාල අමනුස්ස පිරිසක් රෝගියා වට කරගෙන නිතර නිතර ඔහුට කරදර බාධා කරනවා. ඒ වෙලාවෙ රෝගියාගෙ මුළු ශරීරයම ගුප්ත ලෝකයේ ඉන්න අමනුස්ස පිරිස විසින් වහගෙන. මහා බල සම්පන්න අමනුස්ස පිරිස් දහස් ගණන් රෝගියාගේ ඔළුව උඩ, පපුව උඩ නැගල රෝගියාව වට කරගෙන බෙල්ල මිරිකගෙන ඔළුවට ගහමින් විවිධාකාරයෙන් කරදර බාධා කරමින්, තෝ මරනවා, තෝ අපිට කරදර බාධා කළා, තෝ අපිට කරල තියෙන අසාධාරණ වැඩවලට මෙහෙම කරල මදි, තොට හොඳින් ඉන්න අපි ඉඩ දෙන්නෙ නෑ... මේ ආදී වශයෙන් නිතර නිතර කියමින් රෝගියාගෙන් පළිගන්න හැටිත් මම දැක්කා. මේ අසාධ්‍ය රෝගියාට අමනුස්ස ලෝකවල ඉතා විසාල පිරිසක් නිතර නිතර කිව්වෙ, ඒ අයට ඔහුගෙන් වෙච්ච අසාධාරණ අකටයුතුකම් ගැනම තමයි. ඒවා එකින් එක මතක් කරමින් තමයි මේ ආකාරයට ඔහුගෙන් පළිගන්නෙ.

ඒ නිසා මම නැවතත් සමාධියෙන් යොමු කරල බැලුවා මේ අසාධ්‍ය රෝගියාගෙ ගෙවී ගිය අතීත ජීවිතය පිළිබඳව. ඔහු හොඳින් ජීවත් වෙලා ඉන්න කාලෙ වුනත් හොඳ වැඩ සුචරිත වැඩ කරපු කෙනෙකුත් නෙවෙයි. ජීවත් වෙන්න කරපු රැකියාව

වුනත් සාධාරණව සිද්ධ කරල නෑ. පංච දුශ්චරිත දස අකුසල් කරමින් අනෙක් අයට අසාධාරණ පොළියට ණයට මිල මුදල් දීල අයුක්තියෙන් අසාධාරණයෙන් තමයි වැඩිපුර කටයුතු කරල තියෙන්නෙ. අතීත සංසාර ගමනෙත් ඔහු අතින් නිතර නිතර ලෝක සත්ත්වයාට අවැඩ අසාධාරණකම් තමයි වැඩිපුර සිද්ධ වෙලා තියෙන්නෙ. මේ ජීවිතයෙදි ඔහු කරන ලද මොනව හරි විශේෂ පිංකමක්වත් තියෙනවද කියල බැලුවම මහා පුදුමයක්, සාසනය වෙනුවෙන් දානමානයක් පුද පූජාවක්වත් මේ ජීවිතයේ කිසිම දවසක කරපු කෙනෙකුත් නෙවෙයි.

මම නැවතත් සමාධියට යොමු කරල මේ රෝගී පුද්ගලයගෙ ගෙවී ගිය අතීත ජීවිතය ආපසු බලාගෙන යනකොට දැක්කා, මුළු ජීවිත කාලයේම කරපු එකම එක පිංකමක්. ඒ තමයි බොහොම ඉස්සර දවසක තවත් යහළුවො කිහිප දෙනෙක් එක්ක අනුරාධපුරය පැත්තට විනෝද ගමනක් ගිය අවස්ථාවකදි කරගත්ත පින්කමක්. අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ, රුවන්වැලි මහා සෑය... ආදී පූජනීය ස්ථාන පිහිටල තියෙන ප්‍රදේශයේ මොහු ඇවිදගෙන වට පිට බල බල යනකොට, තමන් එක්ක ගිය පිරිස රුවන්වැලි මහා සෑයට පූජා කරන්න මල් ගන්නකොට යහළුවන්ගෙ ඉල්ලීමටත්, මල් විකුණන අයගෙ බල කිරීමටත්, අවට ඉන්න අය බලාගෙන හිටපු නිසා ලැජ්ජාවෙන් බේරෙන්නත් එක්ක, එකම එක පුංචි පිච්ච මල් වට්ටියක් මුදල් ගෙවල අරගෙන තියෙනවා. ඒ පිරිස රුවන්වැලි මහා සෑය ළඟට ගිහින් මල් පූජ කරල වඳිනකොට, මොහුත් අර මුදල් ගෙවල ලබා ගත්ත පිච්ච මල් වට්ටිය රුවන්වැලි මහා සෑය අභියස තියල පූජ කරල වැඳල තියෙනවා. නමුත් ඉතින් ඒක සිද්ධ කරල තියෙන්නෙ ඒ තරම් ගෞරවයකින් පැහැදීමකින් දහම් අවබෝධයකින් නම් නෙවෙයි. මල් විකුණන අයගෙ පෙරැත්ත කිරීමටත් අනෙක් අය ඉදිරියේ ලැජ්ජාවෙන් බේරෙන්නත් විතරයි.

කොහොම නමුත් පිංකමක් කරන්න පෙරත්, පිංකමක් කරන අවස්ථාවෙත්, පිංකමක් කිරීමෙන් පසුවත් යම් චිත්ත ප්‍රසාදයකට පත්වෙන්න පුළුවන් නම් එබඳු පිංකම් මහා විශේෂයි. නමුත් පිංකමක් කරන්න පෙරත් පිංකම කිරීමෙන් අනතුරුවත් මොන විදිහට කටයුතු කළත්, පිංකමක් කරන වෙලාවෙ, එහෙම නැත්නම් දානයක් දෙන වෙලාවෙ, ඒ දෙන්නෙ අලෝභ හිතකින්මයි. ලෝභ හිතෙන් කෙනෙකුට යමක් දෙන්න බෑ. කුලමල ජාති ආගම් භේදයකින් තොරව යමක් යමෙකුට දෙනව නම් ඒ දෙන්නෙ අලෝභ හිතකින්මයි. අලෝභ හිත පිං හිතක්. ඒ නිසා තමන් මුදල් ගෙවල පිච්ච මල් වට්ටියක් අරගෙන රුවන්වැලි මහා සෑයට පූජා කිරීම සාසන ගුණයට වගේම තුනුරුවන්ට කරන ලද මහා උපහාර පූජාවක්.

ඒ නිසා ඒ කරපු මහා උපහාර පූජාවේ පින ඒ අමනුස්ස පිරිසට නැවත සිහිපත් කරවල අර අසාධ්‍ය මට්ටමේ ඉන්න රෝගියාගෙ ඥාති හිත මිත්‍රාදීන්ටත්, ඔහු අතින් අවැඩ අසාධාරණයට හිංගි හිංසාවලට ලක් වෙච්ච සියලු සත්ත්වයන්ටත් අනුමෝදන් කරල, ඒ සෑම සියල්ලන්ටම සියල්ලෙන් සියල්ල ලැබිල සුඛිත මුදිත වෙත්වා කියල අධිෂ්ඨාන කරල පින් අනුමෝදන් කළා. ඒත් එක්කම රෝගී පුද්ගලයා එක්ක තරහෙන් වෛරයෙන් පළිගනිමින් හිටපු ගුප්ත ලෝකයේ අමනුස්ස පිරිස, ඥාති ප්‍රේත, නොපෙනෙන අප්‍රමාණ පිරිස බලවත් පැහැදීමකට ප්‍රසාදයකට පත් වෙලා, ඒ අයට අවශ්‍ය කරන සියලු සම්පත් ලැබිල මොහොතකින් ඒ සියල්ලෝම අතුරුදන් වුනා. ඒ අවස්ථාවේ අසාධ්‍ය තත්ත්වයේ හිටපු රෝගියා එක පාරටම නිදාගෙන ඉඳල අවදි වුනා වගේ ඇස් ඇරල වටපිට බලල කතා කරල, මට බඩගිනියි කන්න ඕන කියල කෑම ඉල්ලුවා. ඒ වෙලාවෙ මේ සිදුවීම දැකපු රෝහල් සේවක මණ්ඩලය වහාම ක්‍රියාත්මක වෙලා වෛද්‍යවරුත් එතනට ඇවිත් රෝගියාගෙ සුවපත් වීම පිළිබඳ මහා පුදුමයටත් විමතියටත් පත්වෙලා බොහොම සතුටින් ඉතිරි ප්‍රතිකාර පිළිබඳ කතාබහ කළා. විනාඩි 5 - 10 න් බොහොම ඉක්මනට මේ රෝගියාගෙ වෙනස් වීම පෙන්නුම් කළා. ඊට පහුවදා ඔහු මියගිහින් කියල හිතාගෙන මෘත ශරීරය ගෙනියන්න ආපු රෝගියාගේ ඥාති හිත මිත්‍ර පිරිස, මහා සතුටින් රෝගියා එක්ක කතාබහ කරල තවත් බොහොම කෙටි වෙලාවකින් රෝගියා නිදහස් කළාට පස්සෙ ඔහුත් එක්ක අප්‍රමාණ සතුටින් යන්න ගියා.

මේ සිදුවීම වහරක හාමුදුරුවො හිනා වෙවී කියල අන්තිමට කියනවා, හැබැයි ඉතින් ඒ රෝගියා මියයන්න වෙන් කරල තිබුන අවස්ථාවෙ අවසන් මොහොතෙ මේ තරම් ඉක්මනට සුවපත් වීම ගැන, ප්‍රතිකාර කරපු වෛද්‍යවරුන්ටත් සෙසු ඥාති හිත මිත්‍රාදීන්ටත් මහා පුදුමයක් ඇතිවුනා මිසක් එහෙම වුනේ කොහොමද කියන්න නම් ඒ අය කවුරුවත්ම දන්නෙ නෑ කියල.

මේ සිදුවීම ඇහුවම කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ තරම් අසාධාරණව කටයුතු කරපු කෙනෙකුට අවසන් මොහොතේ මේ වගේ මහා වාසනාවක් උදා වුනේ කොහොමද කියල. දහම් අවබෝධය අඩු අලුත් අයට නම් මේ පිළිබඳ විවිධ ප්‍රශ්න මතුවෙන්න පුළුවන්. නමුත් ඉතින් මේ සසර ගමන කියන්නෙ අති දීර්ඝ කාලයක් හොඳ දේවල් වගේම නරක නපුරු දේවලුත් කර කර ආපු ගමනක්. ඒ නිසා ඒ අනන්ත සංසාරෙ කවදහරි දවසක කරපු යහපත් කටයුතු වගේම අයහපත් කටයුතුත් අවැඩ අසාධාරණත් අපි පසුපස ඇවිත් විපාක වශයෙන් ලැබෙනවා. ඒ නිසා තමයි අරිහතුන් වහන්සේලාට, බුදු පියාණන් වහන්සේලාට පවා පෙර කරන ලද යම් යම් කර්ම, විපාක වශයෙන් ඇවිත් විවිධ රෝගාබාධ නින්දා අපහාස ආදියත්, ගරු බුහුමන් කීර්ති ප්‍රසංසා ආදියත් ලැබෙන්නෙ.

වහරක හාමුදුරුවො පැවිදි වෙන්න පෙර ගිහි වතේ ඉන්න කාලෙ දවසක් අපිත් එක්ක කතා කර කර ඉන්නකොට මෙහෙම කතාවක් කිව්වා. ස්වාමීන් වහන්ස, පසුගිය කාලෙ මගේ ළඟට එක්තරා රෝගී පුද්ගලයෙක්ගෙ ඥාතිවරයෙක් ආවා. ඔහුට ආරංචි වෙලා තිබුනා මම විවිධ රෝගීන් සාසන ආශිර්වාදයෙන් සුවපත් කරනව කියල. ඒ නිසා ඔහු මාව හොයාගෙන ඇවිත් තිබුනා. නමුත් ඔහු අපි කරන ආගමික කටයුතු පිළිබඳව නම් කිසිම දෙයක් දැනගෙන හිටියෙ නෑ. අපි කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවකටවත් සම්බන්ධ වෙලා නෑ. ඔහු මට මෙහෙම කියනවා. අපේ ඥාතිවරයෙක් රෝහලේ දැඩි සත්කාර ඒකකයේ නේවාසිකව ප්‍රතිකාර ලබනවා. ඔහුට බොහොම අසාධ්‍යයි. සුව කරන්න බෑ කියල තමයි වෛද්‍යවරු කියල තියෙන්නෙ. දැනටමත් රෝගියා ජීවත් වෙලා ඉන්නවද කියන්න දන්නෙත් නෑ. ඒ තරමම රෝගියාට අමාරුයි. ඔබතුමා ගැන මට තොරතුරු කිව්වෙ අහවල්... මහත්තයා. අපි රෝගියාට ප්‍රතිකාර කිරීමට අමතරව දේවාල ගානෙ ගිහින් නොයෙක් පුද පූජා භාරහාර වෙමින් බෝධි පූජා ආදිය සිද්ධ කරමින් ආගමික වශයෙනුත් සෙත් ශාන්ති කටයුතු සිද්ධ කළා. දැනටත් එබඳු සෙත් ශාන්ති කටයුතු සිද්ධ කරනවා.



ගිහි කල සමාධිමය සෙත් ශාන්තියක් කරන අවස්ථාවක්

ඒ අතරතුරේ තමයි මට ඒ මහත්තයා ඔබතුමා ගැන කිව්වෙ. එතුමන් මීට පෙරත් ඔබතුමා ළඟට, ඔහුට සුව කරන්න බැරි රෝගීන් එවල සුව වුන අය ඉන්නව කියලත් මාත් එක්ක කියල තියෙනවා. නමුත් තවම ඔබතුමා දැකල කියල අඳුනන්නෙ නැති බවත් කිව්වා. ඔබතුමා ගැන එතුමන් බොහොම පැහැදීමෙන් තමයි කතා කළේ. එතුමා මට කිව්වා, දැනට රෝහලේ දැඩි සත්කාර ඒකකයේ ප්‍රතිකාර ලබමින් ඉන්න රෝගියාට තදබල අමනුස්ස දෝසයක් තියෙනවා, ඒ අමනුස්සයා රෝගියාගෙ ඔලුව හිර කරගෙන ඉන්නෙ, මම දන්න හැම දෙයක්ම කළා, නමුත් මට ඒ අමනුස්සය කියනවා, රෝගියා මරාගෙන ඒ අමනුස්සය ඉන්න තැනට අරගෙන යනව කියල. නමුත් එතුමා මට කිව්වා, ඒ අමනුස්සය ඉවත් කරල රෝගියා සුවපත් කරන්න ඔහුට බෑ, ඒ සඳහා ඔහුටත් වඩා බලයක් හැකියාවක් තියෙන කෙනෙක් ඉන්න ඕන කියල. අහවල් ප්‍රදේශයේ ඉන්නවා අබේරත්න කියල භාවනා කරන උපාසක මහත්තයෙක්, එතුමා ළඟට ගිහින් කියන්න අනිවාර්යෙන් රෝගියා සුව කරල දෙයි, හැබැයි ප්‍රමාද නොකර අදම එතුමා හොයාගෙන ගිහින් කියන්න කියල තමයි මාව ඔබතුමා ළඟට එව්වෙ. අනේ මහත්තයෝ මට මගේ රෝගියා කොහොම හරි සුව කරල දෙන්න, මම ඔබතුමන්ට ඉල්ලන ගානක් දෙන්නම්... මේ විදිහට අඬ අඬා ඔහුගෙ දුක් ගැනවිල්ල කියාගෙන කියාගෙන ගියා. මම ඔහුට මෙහෙම කිව්වා.

මම රෝගීන් ගැන හොයන්නෙ බලන්නෙ, සමාධිමය ප්‍රතිකාර ක්‍රම සිද්ධ කරන්නෙ, මේ ස්ථානයේ සිද්ධ කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සහභාගි වෙච්ච අයට විතරයි. ඔබතුමා සෙත් බුද්ධ පූජාවට සහභාගි වෙලත් නෑ. නැවත ආශිර්වාද සෙත් බුද්ධ පූජාව තියෙන්නෙ ලබන සතියෙ අද වගේ දවසක. ඒත් ඉතින් අසාධ්‍ය රෝගියෙක් නිසා එතකල් බලාගෙන ඉන්නත් බෑනෙ. ඒ නිසා ඔබතුමා අද ආශිර්වාද සෙත් බුද්ධ පූජාව සිද්ධ කළ බෝධීන් වහන්සේ ළඟට දැන් ගිහින් බුද්ධ වන්දනාව සිද්ධ කරල බෝධීන් වහන්සේ ළඟ අපි කියල දීල තියෙන විදිහට, ඔය ළඟ ඉන්න කාගෙන් හරි අහගෙන රෝගියාගේ නම ගම කියල රෝගියාට ඉක්මනට සුවපත් වෙන්න කියල අධිෂ්ඨාන කරල, රෝගියා වෙනුවට වෙනත් කෙනෙක් නොවරදවාම ඊළඟ සතියෙ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සහභාගි වෙනව කියල පඬුරක් ගැට ගහල එන්න. ගෙදර යන්න කලින් රෝගියා පදිංචි ගම සහ රෝගියාගෙ සම්පූර්ණ නම ආදී තොරතුරු කොළයක ලියල මට බාර දීල යන්න. මෙහෙන් සෙත් පැන් ටිකක් අරගෙන ගෙනිහින් පුළුවන් නම් රෝගියාගෙ මුහුණෙවත් ගාන්න. උදේ හවස ඒ සෙත් පැන්වලින් තේ හැන්දෙන් එකක් විතර බොන්න දෙන්න. අද රෑ 12 න් පස්සෙ රෝගියාට මොනව හරි විශේෂ වෙනසක් ගුණයක් තිබුනොත් රෝගියා සුවපත් කරල දෙන්න මම බාර ගන්නවා. රෑ 12 න් පස්සෙ රෝගියාට කිසිම වෙනසක් ගුණයක් ලැබුනෙ නැත්නම් මම රෝගියාව සුවපත් කරන්න බාර ගන්නෙ නෑ. නමුත් රෝගියාට සුව වෙන මොනව හරි විශේෂ ලකුණු තිබුනොත් නොවරදවාම රෝගියා වෙනුවෙන් කෙනෙක් ඇවිත් මාව හමුවෙන්න... මේ ආදී වශයෙන් මම ඔහුට කරුණු පැහැදිලි කරල දුන්නා.

ඊට පස්සෙ මම ඉතින් මගේ වැඩ කටයුතු අවසන් කරල රෑ 12 න් පස්සෙ රෝගියාගෙ නම ගම යොදල දස දිසාවට මෙත් වඩන ආර්ය මෛත්‍රී භාවනාව වැඩුව විතරයි. ඒ වෙලාවෙ මම සමාධියෙන් දැක්කා, එක අමනුස්සයෙක් නෙවෙයි රෝගියාගෙ හිසේ මහා බල සම්පන්න අමනුස්සයො 6 දෙනෙක්ම ඉඳගෙන හිස, බෙල්ල ආදිය තම තමන්ගෙ දෑත්වලින් හිර කරගෙන කරදර බාධා කරනවා. මම ඒ රෝගියාට මෙත් වඩනකොට ඒ හිරිහැර කරදර බාධා කරපු ගුප්ත ලෝකයේ හිටපු අමනුස්සයො 6 දෙනාම, හරියට වතුර යට හිර කරගෙන තිබුන රබර් බෝලයක් එකපාරටම උඩට එනව වගේ විසි වෙලා ගිහින් අතුරුදන් වුනා. ඒ වෙලාවෙ අර අසාධ්‍ය තත්ත්වයේ හිටපු රෝගියා එකපාරටම ඇස් ඇරල වටපිට බලල නැගිටල වාඩිවෙලා මහා කලබලයෙන් වගේ මට මොකද වුනේ, මම කොහෙද ඉන්නෙ, මට හරියට බඩගිනියි කන්න ඕන කියල බොහොම හෙමිහිට ඉල්ලුවා. ඒ වෙලාවෙ නැවත රෝගියා ඇඳේ හාන්සි වෙලා වටපිට බල බල ඉන්නකොට, ළඟ ඉන්න අය බොහොම සතුටින් මොනව හරි කන්න දෙනව දැක්කා. නමුත් ඉතින් දින ගණනාවක් ආහාර මුකුත්ම නැතිව හිටිය කෙනෙක් එකපාරටම කොහොම කෑම බීම ගන්නද? ඔහුගෙ කය බොහොම දුර්වලයි. මම ඉතින් විනාඩි 5 - 10 ක් විතර ඔහුව මුල් කරගෙන මෙත් වැඩුවා. මම දැක්කා ඒ රෝගියා සුව කරන්න පුළුවන් බව.

මේ විදිහට අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක කිව්වා. අපි ඉතින් අබේරත්න උපාසක මහත්තය හමුවෙන්න ගිය අලුතම මේ සිදුවීම දැන ගත්ත නිසා ඒ පිළිබඳ දිගින් දිගටම තොරතුරු ඇහුවා. එතකොට අබේරත්න උපාසක මහත්තය හිනා වෙවී නැවතත් කතාව කියන්න පටන් ගත්තා. ස්වාමීන් වහන්ස, ඔය සිදුවීම වෙච්ච දවසට පහුවදා උදේම ඒ රෝගියාගෙ ඥාතිවරයෙක් මාව හමුවෙන්න ඇවිත් මට මෙහෙම කියනවා. අනේ බුදු මහත්තයෝ මහා පුදුම වැඩක් වුනා, ඊයෙ රෑ 12 පහු වුනා විතරයි, අසාධ්‍ය තත්ත්වයේ හිටපු රෝගියා එක පාරටම ඇස් ඇරල වට පිට බලල කන්න ඉල්ලුවා. අපිත් ඉතින් හරි සතුටින් කන්න බොන්න දුන්නා. නමුත් ඉතින් ඒ වෙලාවෙ මුකුත්ම කෑවෙ නම් නෑ. පොඩි වෙලාවක් යනකොට නම් හිතා ගන්න බැරි තරම් ගුණයක් ලැබුනා. අනේ මහත්තයෝ ඔබතුමා අපිට හමු වුනේ මහා වාසනාවකට. ඔබතුමාට නිවන් සැප ලැබෙන්න ඕන අපිට මේ කරපු උදව්වට. තව මොනවද මහත්තයෝ අපි කරන්න ඕන... මේ විදිහට එක දිගටම කියාගෙන ගියා.

මම ඉතින් මෙහෙම කිව්වා. අපිට අමුතුවෙන් මුකුත්ම කරන්න දෙයක් නෑ. දැන් ඉතින් ලෙඩා හොඳ වෙයි කියල විශ්වාසයක් තියෙනවනෙ.

ලබන සැරේ සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙනව කියල එදා බෝධිය ළඟට ගිහින් පඬුරු ගැට ගහල බාර වුන නිසා ඒවා ඒ විදිහටම කරන්න. දැන් ඉතින් බය වෙන්න දෙයක් නම් නෑ. මෙහෙන් ගෙනිච්ච සෙත් පැන්වලින් උදේ හවස තේ හැන්දක් තරම් ප්‍රමාණයක් බොන්න දෙන්න. ඒ ආශිර්වාද සෙත් පැන් වසර 700 - 750 ක් තරම් දීර්ඝ කාලයකට සෙත් කරල බල පිහිටුවල තියෙන්නෙ. ඒ නිසා බයවෙන්න දෙයක් නෑ. රෝහලේ දැනට කරන ප්‍රතිකාර කළාම ඇති. වෙනත් බෙහෙත් හේත් අවශ්‍ය නෑ. දැන් ඉතින් ඔය අයට මේ සිදුවීමෙන්, අත්දැකීමෙන් පේනව නේද සංසාරෙ හැටි? **හුග දෙනෙක් හිතාගෙන ඉන්නෙ ජීවත් වෙලා ඉන්න කාලෙ ගැන විතරයි. ඊට පස්සෙ මොනව වුනත් කමක් නෑ, අපි දන්නෙ නෑනෙ කියල තමයි හිතාගෙන ඉන්නෙ. අපි නොදන්න, අපිට නොපෙනෙන නොතේරෙන ලෝකයක් සහ සසර ගමනක් තියෙන බව දකින්න ඕන, හිතන්න ඕන.** ඒ නිසා පුළු පුළුවන් වෙලාවට ඇවිත් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවලටත්, මාසෙ පෝය, පසළොස්වක පෝය දවස්වල කරන සාසනික හා ආගමික කටයුතුවලටත් සම්බන්ධ වෙලා දහම් අවබෝධය ලබා ගන්න උත්සාහ කරන්න. මට ඉතින් වෙන කියන්න දෙයක් නෑ කියල මම ඒ අයට කිව්වා. ඒ අය ඉතින් මට පින් දිදී යන්න ගියා. ඊට පස්සෙ සෙත් බුද්ධ පූජා කිහිපයකට නම් ඒ අය ඇවිත් ඉන්නව දැක්කා.

මේ විදිහට අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක එදා මේ විස්තරය කියල ඒ ගැනම තමයි එදා ධර්ම සාකච්ඡාවත් කරගෙන ගියේ. අපිට එතුමා මෙහෙමත් කියනවා. ස්වාමීන් වහන්ස, මේ මගේ බලයක් මගේ හපන්කමක් නෙවෙයි. මේ තමයි සාසන ආශිර්වාදයේ බලය, තුනුරුවන්ගේ අසීමිත බලය. මේ තරම් බලයක් ශක්තියක් සාසන මාර්ගයේ ගමන් කරන අයට නිරායාසයෙන්ම ලැබෙනවා. මේ මේ මොහොතෙම ප්‍රතිඵල අත්දකින්න අත්විඳින්න පුළුවන්. නමුත් ඉතින් අද ඉන්න අයට නම් එහෙම හැකියාවක් නෑ. එහෙම බලයක් ශක්තියක් නෑ.

ඒකට හේතුව ඒ අයගෙ වැරැද්දක් නෙවෙයි. බෞද්ධ කියල කියාගන්න අය අනවබෝධයෙන් කටයුතු කිරීමේ ප්‍රතිඵලයක් නිසයි එහෙම වෙන්නෙ. **අද දහම් පොත්පත් ගත්තම අප්‍රමාණ ප්‍රාතිහාර්යයන්, හැකියාවන් ගැන, අභිඥා බල ගැන, එක් කෙනෙක් සිය දහස් ආකාරයෙන් මවාගෙන හිටිය ආකාරය ගැන... මේ ආදී වශයෙන් මහා ප්‍රාතිහාර්ය ගැන අපි කතාබහ කරනවා. අර බණ කතාවෙ මෙහෙම තියෙනවා, මේ පොතේ මෙහෙම තියෙනවා, අර පොතේ මෙහෙම තියෙනවා... මේ විදිහට අපි අතීතයේ තිබුන කතන්දර කිය කියා ලොකුකමට උද්දාම වෙවී ඉන්නවා. බැරිවෙලාවත් කවුරුහරි කෙනෙක් ඇහුවොත්, උඹලගෙ අයට මේ මේ විදිහෙ බල තියෙනවා කියල කියනවා, කෝ ඒ බල, හැකියාවන් පුළුවන් නම් කරල පෙන්නපල්ල කියල, අපේ අය මොනව කියන්නද, මොනව කරන්නද? නෑ, ඒ කාලෙ නම් එහෙම තමයි, දැන් ඉතින් ඒවා කරන අය නෑ, මේ කාලෙ ඒවා කරන්න බෑ, මේ කාලෙ මගඵල ලබන්න, ධ්‍යාන අභිඥා ලබන්න බෑ, එහෙම ලබල තිබුනත් ඒවා කියන්නෙ නෑ, ඒවා කියන්න හොඳ නෑ... ඔය වගේ දේවල් තමයි අද ඉන්න අය උත්තර විදිහට දෙන්නෙ. නමුත් මිනිස්සුන්ට එහෙම කියල ඇඟ බේරගෙන හරියන්නෙ නෑ. ඒ අයට යමක් අත්දකින්න තියෙන්න ඕන, පේන්න ඇහෙන්න යමක් තියෙන්න ඕන. එහෙම තිබුනොත් තමයි ඔය ඉන්න මිනිස්සු එබඳු ප්‍රතිඵල තියෙන තැන්වලට වැල නොකැඩී යන්නෙ. එතකොට අමුතුවෙන් දැන්වීම් පළ කරන්න ඕන නෑ. බෝඩ් ලෑලි හයි කරන්න ඕනත් නෑ. අවංකවම එන අය සත්‍යය දැකල සත්‍යය අත්දැක්ක අයගෙන් අහල තමයි එබඳු තැන්වලට යන්නෙ. එහෙම යන අයට වැටකඩුලු දාලවත්, ඒවට නීති රීති දාලවත්, යන්න එපා කියලවත් ඒ තැන්වලට යන එක වළක්වන්න බෑ. මිනිස්සුන්ට යම් සහනයක් සැනසිල්ලක් ලැබෙන්නෙ කොතනින්ද, ඒ තැන්වලට මිනිස්සු හොයාගෙන ආරංචි කරගෙන යනවා. ඒ අයට යන්න එපා කියල වළක්වන්න බෑ.**

**මම මෙහෙම කියනකොට කෙනෙකුට හිතෙන්න පුළුවන්, කෙනෙක් කියන්න පුළුවන්, බුදු දහම කියන්නෙ මැජික් පෙන්වන ආගමක්ද, ඒවා කොහෙද තියෙන්නෙ කියල. මේ ආදී වශයෙන් කිය කියා මට බනියි. මම කියන්නෙ ප්‍රාතිහාර්ය පෙන්වල සෙනග ගෙන්න ගන්න කියන එක නෙවෙයි. මම මේ කියන්නෙ මේ පිළිබඳ තර්ක වාද කර කර ඉන්නෙ නැතිව, අපේ ඉන්න නායක ස්වාමීන් වහන්සේලා, ආචාර්ය මහාචාර්යවරු... මේ ආදී අපේ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිවුවනක් පිරිසම එකතු වෙලා සාකච්ඡා කළ යුතුයි, අවංකවම එකතු වෙලා දහම් පොත්පත්වල මේ මේ විදිහට තියෙනවා, එදා අතීතයේ මේ මේ විදිහෙ උතුමන් වහන්සේලා වැඩ ඉඳල තියෙනවා, මේ මේ විදිහෙ ප්‍රතිඵල තිබිල තියෙනවා, ඇයි අද එහෙම දහම් ප්‍රතිඵල නැත්තෙ, ඇත්තටම එහෙම ප්‍රතිඵල ලබන්න බැරිද, අපිට මොකද වෙලා තියෙන්නෙ, බැරිවෙන්න හේතු ඇයි, අපි කරන කියන ඒවායේ ප්‍රතිඵල නැත්තෙ ඇයි... මේ විදිහට එකතු වෙලා සාකච්ඡා කළ යුතුයි.**

කාටද වැරදුනේ, කොතනද වැරදිලා තියෙන්නෙ, මොනවද හදාගන්න තියෙන්නෙ... මේ ආදී වශයෙන් කතාබහ කරල නිවැරදි කරගන්න ඕන. නිවැරදි පිළිවෙලකට යොමු වෙන්න ඕන. ධර්ම සාකච්ඡා කරන්න ඕන. එහෙම නැතිව, අතන ධර්මය වරද්දනවා, මෙතන ධර්මය වරද්දනවා, ධර්මය විකෘති කරනවා, අපි විතරයි හරි, අන්‍ය ආගමිකයො බුදු දහම වනසනවා, අපි කැති පොලු අරගෙන පාරට බහිමු, බුදු දහම විතරයි තියෙන්න ඕන, අනෙක් ආගම් සියල්ල බොරු, ඒවා අපිට එපා, අපි තමයි බුද්ධාගමිකාරයො, අපි මෙච්චර කල් මල් පහන් පූජ කළා, මෙච්චර කාලයක් පන්සල් ගිහින් තියෙනවා, අපේ ළඟ විතරයි හරි දහම තියෙන්නෙ, අනික් ඒව ඔක්කොම බොරු... මේ ආදී වශයෙන් අනේක ජාති කියමින් පිල් බෙදිල ගහගන්නෙ බැනගන්නෙ නැතිව, මරා ගන්නෙ නැතිව, කැති පොලු මුගුරු අරගෙන බුදු දහම රකින්න යන්නෙ නැතිව සමගියෙන් කටයුතු කරන්න ඕන...

මේ ආදී වශයෙන් අබේරත්න උපාසක මහත්තය එදා දවසෙ මේ මාතෘකාව ඔස්සේ තමයි වැඩිපුර කාලයක් ධර්ම සාකච්ඡා කළේ. ඇත්තටම අපිට අද තේරෙනවා, එදා ඒ කරපු සාකච්ඡාව අදට මොන තරම් ගැලපෙනවද කියල. එදා කියපු සියල්ල අද සිද්ධ වෙනවා. වර්තමාන යුගයේ තියෙන තාක්‍ෂණික මෙවලම් උපයෝගී කරගෙන අන්තර්ජාල, වෙබ් අඩවි, සමාජ ජාලා ඔස්සේ තම තමන්ගෙ මත ප්‍රකාශ කරමින් එක් කෙනෙක් අභිබවා තව කෙනෙක් කටයුතු කිරීම තමයි අද අපිට වැඩිපුර පේන්න ඇහෙන්න තියෙන්නෙ. ඒ අතර අපහාස, අවලාද, බැන වැදීම් තමයි බොහෝකොටම තියෙන්නෙ. ඒවායින් නිකරුනේ අපාගත වෙන්නත් පාර කපා ගන්නවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සසර ණය ගෙවෙන සේ පොල් පැළයක් සිටවමු.




සසර ණය ගනුදෙනු ගෙවෙන්න, ආයුස අඩු අයට ආයුස දික් කරන්න, මාරකවලින් බේරෙන්න, දහම් අරුත් දැනගෙන පොල් පැළ හිටවන ක්‍රමවේදයක් තියෙනවා. අන්න ඒ ක්‍රමවේදය තමයි මේ විස්තර කරන්න යන්නෙ.

මෙහෙම කිව්වම කෙනෙකුට පුදුම හිතෙන්න පුළුවන්. පොල් පැළයකින් කොහොමද සසර ණය ගෙවෙන්නෙ? ආයුස දික් කරන්නෙ? පොල් පැළයකට පුළුවන්ද කෙනෙක්ගෙ මරණයක් වළක්වන්න? මාරක පන්නන්න පොල් පැළයකට පුළුවන්ද? මේ ආදී වශයෙන් ගැටළුවක්, කුතුහලයක් එන්න පුළුවන්. හුදෙක් භෞතිකත්වය තුල හිර වෙලා තීරණය කරන්න ගියොත් එහෙම වෙන්න පුළුවන්. නමුත් මේ තුල අපි නොදන්න, විද්‍යාවට අහු නොවෙන ගැඹුරු කාරණයක් තියෙනවා. ඒ වගේ ගැඹුරු කාරණා පැහැදිලි කරන්න පුළුවන් බුදු දහමින් විතරයි. හැබැයි ඒ කාරණයත් මේ වෙනකොට සැඟවිලා ගිහින්. නැවත මතු කරල දුන්නෙ වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ. ගිහි වතේ පටන්ම උන්වහන්සේට තිබ්ච්ච සුවිශේෂීය සමාධිමය හැකියාව නිසා, ඥාන සම්පන්නභාවය නිසා, ඒ කාලයේ තමන් ළඟට ප්‍රතිකාර ගන්න පැමිණි දහස් සංඛ්‍යාත රෝගීන්ට නිකම්ම බේතක් දෙනවා වෙනුවට, පෙර අත්බැව්වල කර්ම විපාක පෙන්වල ඒවා ගෙවා හරින්න දුන්න සාසනික ප්‍රතිකර්ම අතර පැළ හිටවීමත් විශේෂත්වයක් ගන්නවා. මීට පෙර අභයරතනාලංකාරය ඔස්සේ (හෙළ බොදු පියුම 81 කලාපය), එදා යන එනමං නැතිවෙච්ච කෙනෙකුට මැහෝගනී පැළ හිටවන්න දුන්න ආකාරයත් හෙළිදරව් කළා පින්වතුන්ට මතක ඇති. ඒ වගේ තවත් විශේෂ ප්‍රතිකර්මයක් තමයි මේ හෙළි කරන්න යන්නෙ.

කෙනෙක්ගෙ මරණය සිද්ධ වෙන්න පුළුවන් ප්‍රධාන ආකාර 4 ක් බුදු දහමේ විග්‍රහ වෙනවා. කර්මක්ඛය, ආයුක්ඛය, උභයක්ඛය, උපච්ඡේදක කියන ආකාර 4 තමයි ඒ. හැබැයි මෙතනදි ප්‍රතිකර්ම කරල වළක්වන්න පුළුවන් මරණ වගේම එහෙම බැරි ඒවත් තියෙනවා. අන්න එහෙම පුළුවන් අවස්ථාවක විතරයි ඒ මාරකය ඉවත් කරල ආයුස දික් කරන්න පුළුවන් වෙන්නෙ. නමුත් කර්ම විෂය අචින්ත්‍ය නිසා, අපිට ඒක නිගමනය කරන්න බැරි නිසා තමයි පුළුවන් හැම ප්‍රතිකර්මයක්ම කරන්නෙ. එතකොට ඒ පුද්ගලයට හේතු තියෙනව නම්, ඒ කර්ම වේගය ගෙවිල ප්‍රතිකර්මය සාර්ථක වෙන්න පුළුවන්. හැබැයි එහෙම නොවුන කියල පශ්චාත්තාප වෙන්න අවශ්‍ය නෑ. මොකද **සාසනික ප්‍රතිකර්ම, එහෙම නැත්නම් පොදුවේ ලෝක සත්ත්වයාගේ යහපත අරමුණු කරගෙන ධර්මානුකූලව කරන ප්‍රතිකර්ම ඒ අවස්ථාවේ ඵල නොදුන්නත් කවදාවත් අපතෙ යන්නෙ නෑ.** ගඟට කැපූ ඉනි වගේ වෙන්නෙ නෑ. මතු අත්බවයක හරි ඒ ශක්තිය ඇදිල එනවා.

දැන් මේ පෙන්වා දෙන්න යන්නෙ ඒ වගේ මාරක අවස්ථාවල, ආයුස අඩු අවස්ථාවල පාවිච්චි කරන්න පුළුවන් එක ප්‍රතිකර්මයක් විතරයි. ඊට අමතරව මීට පෙරත් මේ සඟරාවෙන් හෙළිදරව් කළ ආර්යමෛත්‍රීභාවනාව, නවගුණයන්ත්‍රය, පහන් පූජාව, ඥාති බත, සෙනසුරු දානය, ඖෂධ පූජාව... ආදී වශයෙන් කර්ම වේග ගෙවා හරින සාසනික ප්‍රතිකර්ම / ප්‍රයෝග සම්පත්ති යොදා ගන්න පුළුවන්. ඒ අතර මේ පොල් පැළ හිටවීම කියන ප්‍රතිකර්මයත් මේ කාරණයෙදි විශේෂයි, ප්‍රබලයි. නමුත් කර්ම විෂය අචින්ත්‍ය නිසා, අපිට නිගමනය කරන්න බැරි නිසා මේ සියලු ප්‍රතිකර්මවලින් තමන්ට හැකි ප්‍රමාණයක් කරන එක තමයි වඩාත් සාර්ථක හා යෝග්‍ය වෙන්නෙ.

**හැබැයි එහෙම කරල කෙනෙක්ගෙ ආයුස දික් කරගෙන නිකම්ම පංච කාම සම්පත් විඳල මැරිල යන්න නෙවෙයි මේ ප්‍රතිකර්ම හඳුන්වා දෙන්නෙ. මොකද ආයුස කොච්චර දික් කර ගත්තත්, ඒ කාලය මේ සසර ගමන කෙළවර කරගන්න විධිමත් විදිහට යොදා ගත්තෙ නැත්නම් ඒකෙන් ප්‍රයෝජනයක් ගත්ත වෙන්නෙ නෑ. ඒ නිසා අද හෙට මැරෙන්න ඉන්න කෙනෙක් මේ සාසනික ප්‍රතිකර්ම අනුගමනය කරල යම් කිසි කාලයකට ආයුස දික් කරගත්තොත්, ඒ කාලය තුල හැකි තරම් පින් කුසල් වඩල අඩු තරමින් සතර අපායෙන් නිදහස් වෙන්න හරි උත්සාහ කරන්න ඕන.** අප්පමාදෝ අමත පදං - පමාදෝ මච්චුනෝ පදං - අප්පමත්තා න මීයන්ති - යේ පමත්තා යථා මථා... අප්‍රමාදය නිවනට මගයි, ප්‍රමාදය මරණයට මගයි, අප්‍රමාද වූවෝ නොමැරෙත්, ප්‍රමාද වූවෝ මළවුන් වැනිය... කියන උතුම් බුදු වදනත් මෙතනදි සිහියට නගා ගැනීම වැදගත්.

එතකොට මේ පොල් පැළයක් හිටවීමෙන් ආයුස දික් කරන ක්‍රමවේදය දැනගන්න පෙර පොල් ගහක තියෙන විශේෂත්වය, වටිනාකම දැනගන්න ඕන. පොල් කියන්නෙ මේ ලෝකය ආරම්භක කාලයේ පහල වෙච්ච ශාකයක්. පහ ලොල් තමයි පොල් කියන්නෙ. පහ කියන්නෙ පංච

කාමය. පංච කාමයට ලොල් වෙලා දස අකුසලයට නැඹුරු වුනාම මනුස්සයා ළඟ තිබ්බිච ඒ යහපත් ශක්තිය පිට වෙලා ගිහින් ඒක තමයි පොල් කියල ශාකයක් විදිහට හටගෙන ඒකෙ තැන්පත් වුනේ. ආභස්සර බ්‍රහ්ම ලෝකයේ හිටපු බ්‍රහ්ම කල්පික මනුස්සයා ක්‍රමයෙන් පල්ලම් බහිනකොට ඉස්සෙල්ලම පංච කාමයට ලොල් වෙනවා. එතකොට ඒ ගුණය ගිලිහිලා ගිහින් පොල් විදිහට පහල වෙනවා. ඒ නිසා තමයි ලෝකයේ ආරම්භක කාලයේ, කල්පයේ මුල පහල වෙච්ච නිසා පොල් ගහට කල්ප වෘක්ෂය (කප් රුක) කියලත් හැඳින්නුවෙ. (මේ කාරණය මේ සඟරාවෙන් මීට පෙරත් විග්‍රහ කරල තියෙන නිසා වැඩිදුර විග්‍රහ කිරීම අවශ්‍ය නෑ.)

හෙළයන් අතර කප් රුකක් විදිහට හඳුන්වන පොල් ගහට එදා සුවිශේෂීය තැනක් හිමි වුනා. මොකද ජීවත් වෙන්න අවශ්‍ය කරන සියල්ල පොල් ගහෙන් ලැබුන නිසා. පොල් මුලේ පටන් අග කොළය දක්වා සියල්ලම මානව අවශ්‍යතා සඳහා යොදා ගන්නවා. පොල් මුල විස නාසකයක් විදිහටත් භාවිතා කරනවා. **සර්පයෙක් දෂ්ට කළාම පොල් මුල් පුච්චල එන අළු පොල් තෙල් එක්ක අඹරල ගෑමෙන් සුව වෙනවා.** ඒ වගේම දත් මුල් දියවෙන්න පටන් ගත්තම පොල් මුල් කොටල එන ඉස්මවලට සහිඳ ලුණු ටිකක් එකතු කරල උදේ රාත්‍රී මුඛයේ ටික වෙලාවක් තියාගෙන සෝදා හැරීමෙන් ඒ තත්ත්වය සුව කරගන්න පුළුවන්. මුඛ දුර්ගන්ධය දුරු වීමකුත් ඒ මගින් සිද්ධ වෙනවා. පොල් මුල්, පිල මුල්, මූණමල් පොතු එකට පුච්චගෙන එන අළුවලින් දත් මැදීමෙන් දත් සෙළවීම වළක්වා ගන්න පුළුවන්. ඒ වගේම පොල් මුල් දැහැටි කූරක් ආකාරයටත් පාවිච්චි කරන්න පුළුවන්.

පොල් මුල් නවු හෙළ වෙදකමේදි අස්ථි ආශ්‍රිත රෝග සඳහා යොදා ගන්නවා. සුසුම්නාව සහ ස්නායු පද්ධතිය ආශ්‍රිත රෝගවලට ප්‍රතිකාර කරනකොට ළපටි පොල් මුල් කොටාගෙන කැඳක් ආකාරයට සකස් කරල දෙනවා. ඒ වගේම පොල් මුලේ අලය වගේ තියෙන කොටස පුච්ච ගැනීමෙන් එන අළු, අස්ථි පලාගෙන එන ගෙඩි, ඇට පිළිකා... ආදියට ප්‍රතිකාර විදිහට යොදා ගන්නවා. හැබැයි මේවා කරන්න ගිහින් පොල් ගස් කපනව එහෙම නෙවෙයි. වැටිච්ච පොල් ගහකින්, එහෙම නැත්නම් වෙනත් අවශ්‍යතාවයකට කපල දාපු පොල් ගහකින්, එහෙමත් නැත්නම් පොල් ගහට හානියක් නොවෙන්න ඒවා ලබාගන්න ඕන.

පොල් ගහේ කඳ දැව අවශ්‍යතාවයටත්, පොල් අතු සෙවිලි ආධාරකයක් විදිහටත් යොදා ගන්නවා කියන කාරණය කවුරුත් දන්නවා. ඒ වගේම පොල් පිති පුච්චල එන අළු ගොවිතැන සඳහා වැදගත් සාධකයක්. මීට පෙර හෙළ බොදු පියුම 18 කලාපයෙන් සඳහන් කළා වගේ පොල් පිති අළු ලාස් දෙකකට ගැඩවිල් පස් ලාස් එකක් මිශ්‍ර කරල ලාස් දහයක කුඹුරකට දැමීමෙන් පස ඉතා සාරවත් වෙනවා. ඒ කුඹුරට වෙනත් පොහොර අවශ්‍ය වෙන්නෙ නෑ. පසේ ජලය රඳවන්නත් උපකාරි වෙනවා. කෘමිනාසක, වල් නාසක යොදන්නෙත් නෑ. ගොඩ මඩ දෙකටම යොදා ගන්න පුළුවන්.

ඒ වගේම පොල් පිති ඉස්ම, තැඹිලි පිති ඉස්ම... ආදියත් හෙළ වෙදකමේදි යොදා ගන්නවා. අතපය කැඩුනම පොල් නාරටි තියල බඳිනවා. පොල් අතු පට්ට වරිච්ච බඳින්න යොදා ගන්නවා. පොල් ඉරටු ඉදල්, ඉලපත්... ආදියටත්, පොල් කොළ හෙළ වෙදකමටත් යොදා ගන්නවා. පොල් පිති ලිප ගිනි මොළවන්නත්, **පොල් පිති අළු පිටි මකුණා පලවා හරින්නත්, මිරිස් බටුවල කොළ කොඩයින් පලවා හරින්නත් සාර්ථක කෘමි විකර්සකයක්.** ඒ වගේම පොල් කොළපු රබර් කිරි පෙරන්න, රා, පැණි පෙරන්න ආදියටත් යොදා ගන්නවා. **පොල් කොළපු පුච්චල එන අළු දත් මදින්නත් ගන්නවා. පොල් කොළපු අළු, එළගිතෙල්, කෝමාරිකා, වදකහ කියන මේවා එකට අඹරල ආලේප කළාම පිළිස්සුනු තුවාල ඉක්මනට සුව වෙනවා.** පොල් හණසු, බූවලු, පොල් කොළ, පොල් කොළපු ලිපගිනි මොලවන්නත්, තෙල් බේත් හිඳිනකොට පාක අවස්ථාවල ගින්න පාලනය කරන්නත් යොදා ගන්නවා.

පොල් මලටත් සුවිශේෂීය තැනක් හිමි වෙනවා. පුන්කලස් සකස් කරන්නෙත් පොල් මල් උපයෝගී කරගෙන. ඒ මගින් සශ්‍රීකත්වය, සෞභාග්‍යය පෙන්වනවා. මගුල් පෝරුවකට දෙපැත්තෙන් තියන්නෙත් පොල් මල් දෙකක් දාපු ජලය පිරුනු කල දෙකක්. විවාහක යුවළ පෝරුවේ ඉන්දවල ඒ මල් දෙක පලල ඉහිරවනවා. ඒකෙ තියෙන කුරුම්බ ඇට්ටි (කුරුම්බැට්ටි) ප්‍රමාණයෙන් ඔවුන්ට ලැබෙන දරුවන් හා ඔවුන්ගේ ඉදිරි ජීවිතය පවා කියන්න පුළුවන්. ඒ වගේම වම් කලයේ තියෙන පොල් මලින් කාන්තාවත්, දකුණු කලයේ තියෙන පොල් මලින් පුරුෂයත් නියෝජනය කරනවා. ඒවායින් කියන්න පුළුවන් බොහෝ දෑ තියෙනවා.

පොල් මලෙන් පැණි, හකුරු, තෙලි දිය, රා, විනාකිරි නිපදවනවා. ගම් මඩු, දෙවොල් මඩු, පිරිත් මණ්ඩප, ශාන්ති කර්ම ආදියටත් පොල් මල්, ගොක් කොළ නැතිවම බැරි අංගයක්. ඒ වගේම පොල් මල විශ්වයේ තියෙන සුද්ධ කිරණ අද්දවල අංශක 360 ටම විහිදුවා හරිනවා. යම් යම් අමනුස්ස බලවේග ශරීර තුලට ඇතුල් වෙලා ඉන්න අවස්ථාවල පොල් මලට මතුරල යම් කිසි ශක්තියක් ගැබ් කරල ඒකෙන් ආතුරයට තලනවා. එතකොට ඒ කිරණමය ශක්තියෙන් අර අමනුස්ස බලවේග වහා ඉවත් වෙලා යනවා. ඒ වගේම ගෙබිමක් සකස් කරන්න නැකතට ගෙපලක් කපනකොටත්, ගොයම් කොළයක් ගහනකොටත්, කිරි ගහක අත්තක් හිටවල ඒකට ලෙල්ලත් එක්ක පොල් ගෙඩි දෙකක් ඇඳල, පොල් මලක් එක්ක ඒ කිරි අත්තෙ ගැට ගහනවා. කිරි අත්තෙන් සශ්‍රීකත්වයත්, ඉහිරුනු පොල් මලෙන් සෞභාග්‍යයත්, ඇඳපු පොල් ගෙඩි දෙකෙන් ඇස්වහ, කටවහ, හෝවහ කියන තුන් දොස් දුරු කිරීමත් බලාපොරොත්තු වෙනවා.

පොල් මල ඉහිරුනාට පස්සෙ ඒකෙ ගෙඩි එනකොට කුරුම්බැට්ටි කියලත්, ගෙඩි හට නොගන්නා මලේ තියෙන පරාගනය නොවෙච්ච මල් රාශිය පොල් ඇට්ටි කියලත් ව්‍යවහාර කරනවා. හෙළ වෙදකමේදි මේ පොල් ඇට්ටි සහ කුරුම්බ ඇට්ටි තුවාල සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක්. අලුත් තුවාල සඳහා කුරුම්බ ඇට්ටිත්, පරණ ඔඩු දුවපු තුවාල සඳහා පොල් ඇට්ටිත් යොදා ගන්නවා. කඩු, කිණිසි, බෙලි, තෝමර, ඊතල නිසා හට ගත් තුවාල සඳහා ඉස්සර පොල් ඇට්ටි යොදාගෙන කරපු බේත් ක්‍රම අදටත් නොනැසී පවතිනවා. **ලොඳ හැදිච්ච නැති කුරුම්බ ඇට්ටි වතුර තුවාල හෝදන්න, විජලන අවස්ථාවලට සහ සර්ප විස අද්දවන්න අදත් යොදා ගන්නවා.**

ලොඳය තියෙන ළා පොල් කුරුම්බ විදිහට හඳුන්වනවා. ඒක ප්‍රණීත ඖෂධීය පානයක්. අද වෙනකොට පොල් වතුර පිටරට යවන්නෙත් ඒ සඳහා අධික ඉල්ලුමක් තියෙන නිසා. ඒ වගේම පොල් මලෙන් එන තෙලි දිය



හෙවත් තෙලිජ්ජ භාවිතා කරල හදන පැණි, හකුරු, විනාකිරි හෙළ වෙදකම තුල ඖෂධ නිපදවන්න යොදා ගන්නවා. පොල් ප්‍රභේද අනුව ඖෂධ ශක්තියත් විවිධාකාරයි. නවසි පොල් ශරීරය සිසිල් කරන ඖෂධීය ගුණයෙන් යුක්තයි. **දෙයියන්ගේ ලෙඩ කියල හඳුන්වන සරම්ප, පැපොල්, කම්මුල්ගාය කියන රෝගවලදි නවසි පොල් වතුර, ලොඳය රෝගියාට දීමෙන් ඒ තත්ත්වයන් සමනය වෙනවා.** ඒකෙ කහකඩ සියල්ල පැණි රසයෙන් යුක්ත නිසා ඒකත් ආහාරයට ගන්න පුළුවන්.

ඊළඟට පොල් කටුව පවා භාජන විදිහට, හැඳි හදන්න පාවිච්චි කරනවා. ඉස්සර අපේ ඇත්තො බෙලි මල්, රණවරා විතරක් නෙවෙයි වතුර බොන්න පාවිච්චි කළෙත් පොල් කටුව. මුළුතැන්ගෙයි ලුණු ටික තැන්පත් කළේ පොල් කටුවෙ. පොල් කටු හැන්ද අදත් ගැමි ගෙවල්වල නැතිවම බැරි අංගයක්. ඒවා පාවිච්චි කරන වාරයක් පාසා ඒවායේ තියෙන ස්වභාවික ශක්තිය මනුස්සයින්ට ලැබෙනවා. ඊළඟට පොල් ලෙල්ල පවා තලල ලණු අඹරල පාපිස්නා, ගෝනි, කඹ, කුඩ... ආදිය හදන්න ගන්නවා. ඉතිරි වෙන කොහු බත් පවා පොළව සශ්‍රීක කරන්න පොහොර වෙනවා. ඒ වගේම පොල් කියන්නෙ කිරණ ශක්ති ගබඩාවක්. කළු කිරණ උරාගෙන පුපුරවා හැරීමේ ක්‍රියාවලියක් පොල්වල තියෙනවා. ශාන්ති කර්මවලදි, මගුල් පෝරුවෙන් යුවළක් බහිනකොට පොල් බිඳීම, දේවාලවල පොල් ගහන ක්‍රියාවලිය... ආදී අවස්ථාවලදී ගුප්ත ලෝකයේ කිරණ බලපෑම් දුරු කරන ක්‍රියාවලියකුත් පොල් තුලින් සිද්ධ වෙනවා. ඒ වගේම පොල් බොඩ ඉතා රසවත් ආහාරයක්. ශරීරයට ඉතාමත් ගුණදායකයි. ව්‍යංජනයක් විදිහටත් ඉතා රසවත්.

පොල් ගෙඩිය පැළවෙනකොට ළපටි අවස්ථාවේ එන පැළ මදය හෙවත් පැළපී කියන කොටසත් ප්‍රණීත රසයකින් යුක්ත මහා ඖෂධයක්. ඒ කොටසෙ තමයි විශේෂ ශක්තියක් ගැබ් වෙලා තියෙන්නෙ. ඒ නිසා තමයි ඉස්සර ලොකු පොල් වතුවල වැඩ කරන උදවිය දවල්ට පැළ පොල් ගෙඩියක් පලාගෙන කාල ඒකෙන් ලැබෙන ශක්තියෙන් දවසෙම වැඩ කළේ. මොකද ඒ ශක්තිය එක පාරටම ක්‍ෂය වෙන්නෙ නෑ. සැහෙන වෙලාවක් අල්ලල හිටිනවා. කෙනෙක්ගෙ ශරීරයට මේදයේ අඩුවක් තියේ නම් මේ පැළ මද කොටස ඒ වගේ අයට මහා ඖෂධයක්. ඒ වගේම මලබද්ධය දුරු කිරීමත්, මහ බඩවැලේ අපද්‍රව්‍ය ඉවත් කිරීමත් ඒ මගින් සිද්ධ වෙනවා. ඊට අමතරව පැළ මදය වටේට තියෙන තෙල් මන්ද කොටස තුවාලවල ආලේප කිරීමෙන් ඉතා ඉක්මනට සුව වෙනවා. ලෝකයේ ස්වභාවිකව හිඳිච්ච තෙලක් තියේ නම් ඒ තමයි මේ කොටස.

පොල් මදය මිරිකල ගන්න පොල් තෙල් කියන්නෙ ඉතා ඉහල විස බීජ නාසකයක්. ඉස්සර නම් මළගෙදරක දේහය තැන්පත් කරල තියෙනකොට අමනුස්සයන්ගෙන් එන කළු කිරණ, විස බීජ දුරු කරන්න පොල් තෙල් පහනක් තමයි පත්තු කළේ. ඒ පත්තු වෙන පොල් තෙල් පහනක් දිහා හොඳින් බලාගෙන හිටියොත්, කළු කිරණ පහන් දැල්ල දෙපැත්තට ඇදල එකතු කරල පුච්චල උඩට යවන ආකාරයත් දැක බලා ගන්න පුළුවන්. ඒ වගේ දෙයක් ඉටි පන්දමකින් හෝ වෙනත් දෙයකින් හෝ සිද්ධ වෙන්නෙ නෑ. පොල් තෙල් පහනකින් නික්මෙන සුවඳ පවා ගතට සිතට අමුතු ප්‍රබෝධයක් ගෙන දෙනවා. තෙරුවන් ගුණ පුදනකොට විතරක් නෙවෙයි, ඕනෑම උත්සව අවස්ථාවකදි පවා පොල් තෙල් පහන දැල්වීම තමයි ඉස්සෙල්ලම සිද්ධ කරන්නෙ. මේ අනුව මනුස්සයාට පොල් ගහ කියන්නෙ කප් රුකක්.

ඒ වගේම පොල් ගෙඩියෙනුත් යම් කිසි දහමක් නිරූපණය වෙනවා. පොල් ගෙඩියේ ලෙල්ල ගත්තම ඒකෙ ඇතුලෙ තියෙන කොහු, කෙඳි ආදියේ කොනක් හොයන්න බෑ. මහා අවුල් ජාලයක්. ලෝක සත්ත්වයොත් මහා අවුල් ජාලයක පැටලිලා ඉන්නෙ. ඒ තමයි පොතු හෙවත් වැඩකට නැති දේවල් ජනිත කරන පෘතජ්ජන ස්වභාවය. ඒ කාරණය තමයි පොල් ලෙල්ලෙන් පෙන්වන්නෙ. එතනින් එහාට ගියාම ඝන කටුවෙන් වට වෙලා තියෙන ස්වභාවයෙන් පෙන්වන්නෙ අවිද්‍යා අන්ධකාරය. අවිද්‍යාව නමැති ඝන කටුව. එතකොට පෝරුවේ චාරිත්‍ර, දෙවියන්ට පොල් ගැසීම... ආදී අවස්ථාවලදි පොල් බිඳින්නෙ සාප කරන්න නෙවෙයි. ඒකෙන් පෙන්වන්නෙ මෙන්න මේ අවිද්‍යා අන්ධකාරය බිඳ හැරල, කටුක සසර බයෙන් නිදහස් වෙන්න කියන කාරණය. අවිද්‍යාවට අහු වෙලා ඉඳල ඒක බිඳ හැරියම සුද්ධතාවයට පත් වීම තමයි ඊළඟට ඇතුලෙ තියෙන පොල් මදයෙන් පෙන්වන්නෙ. ඒ කියන්නෙ සීල ගුණයට පත් වෙනවා. ඒ පොල් මදයත් ඖෂධයක්. ඒ තත්ත්වයට පත් වෙච්ච පුද්ගලයා තුල තමයි කරුණාව මෛත්‍රිය තියෙන්නෙ. අන්න ඒ කරුණා මෛත්‍රිය නමැති සිසිල් ජලාසය තමයි පොල් වතුරෙන් පෙන්වන්නෙ. ඒකත් ඖෂධයක්.

**එතකොට එදා හිටපු පැරැන්නො සංකේතයක් විදිහට පොල් ගෙඩිය බිඳල ලෝකයට පෙන්නුවේ, මෙන්න අපි මේ අවිද්‍යාව නමැති ඝන කටුව බිඳ හැරල සුද්ධතාවයට පත් වුනා, දැන් කරුණාව මෛත්‍රිය නමැති සිසිල් ජලාසය අපේ හදවතේ තියෙනවා කියන කාරණය. ඒ නිසා ලෝකයට පොල් බිහි වෙලා තියෙන්නෙ ඕක බිඳල කාටවත් සාප කරන්න නෙවෙයි. බෞද්ධයො කියන්නෙ එහෙම අනුන්ට සාප කරන ජාතියක් නෙවෙයි. නමුත් පසුකාලීනව දහම් අරුත් යටපත් වෙලා පටලවා ගත්තම තමයි අනුන්ට සාප කරන්න පොල් ගහන්න පටන් ගත්තෙ. නමුත් මේ පොල් බිඳින ක්‍රියාවලියෙන් පෙන්වල තියෙන්නෙ අන්න අර කියන දහම් කාරණය. එදා තිබිච්ච කුල සිරිතක් අනුව තමයි ඒ කාරණය ලෝකයට පෙන්නුම් කළේ.**

ළපටි පොල් අතු හෙවත් ගොක් කොළ පිරිත් මණ්ඩපවලට, තොරණට, බණට, මළගෙවල් සැරසිලිවලට යොදා ගන්නවා. දෙයියන්ගෙ ලෙඩ

කියල හඳුන්වන බෝවෙන ලෙඩක් ගෙදරක කාට හරි හැදුනම, ගමේ අනික් අයට වෙලපහින්ම ආරක්‍ෂා වෙන්න දැනුම් දෙන්න ගොක් කොළ සැරසිල්ලක් තමයි කාටත් පේන්න ඉස්සර ගෙවල්වල එල්ලුවෙ. ඒ වගේම යන්ත්‍ර මන්ත්‍ර කටයුතු ශාන්ති කර්ම ආදියටත් ගොක් රැන් තමයි පාවිච්චි කළේ. **මිනියක් වළ දැම්මට පසු අදටත් සමහර පළාත්වල මිනියේ හිස පැත්තට පොල් පැළයකුත්, කකුල් දෙක පැත්තට පොල් පැළයකුත් හිටවනවා. මියගිහින් ගන්ධබ්බ අවස්ථාවෙ ඉන්න ඥාති ප්‍රේතයාට ඒකෙන් වෘක්‍ෂයක් පහළ වෙලා, හත් දවසෙ දානෙ දෙනකල් ඒ ස්ථානයේ ඉන්න හිටින්න ප්‍රාණයට ප්‍රාණයක් විදිහට බාර කිරීමක් ඒකෙන් සිද්ධ වෙනවා. මේ අනුව පොල් ගහ ජවයට ජවයක් (පණට පණක්) ලෙසත් මනුස්සයාට උදව් වෙනවා.**

**තමන්ට යම් දෝසයක්, අමනුස්ස බලපෑමක් තියේ නම් ප්‍රාණයට ප්‍රාණයක් ලෙස තමන්ගෙ ජීවිතයට එන කර්ම විපාක පොල් පැළයට ආදේශ කරල ඒකට කරන ප්‍රතිකර්මයක් තමයි මේ විදිහට පොල් පැළයක් හිටවීම කියන්නෙ.** පොල් ගහෙන් එන කිරණ කදම්බයෙන් කළු කිරණ උරාගෙන සුදු කිරණ විතරක් පිට කරනවා. එතකොට මනුස්සයගෙ කිරණ කයට බලපෑම් එල්ල වෙන කළු කිරණ අර පොල් පැළය කරා ගිහින් මනුස්සයා ආරක්‍ෂා කිරීමත් සිද්ධ වෙනවා. **ඒ වගේම තමන්ගෙ සතර වරිගයට අයත්, තමන්ට බලපෑමක් එල්ල වෙන යම් කිසි නොපෙනෙන ඥාති බලවේග තියේ නම්, ඔවුන්ට කල්ප වෘක්‍ෂයක් විදිහට මේ පොල් පැළය මැවිල ඒකෙ විමන් පහල වෙලා ඔවුන්ට ඒකෙ රැඳී සිටින්නෙයි කිව්වම ඒ බලපෑම් දුරු වෙලා යනවා.** මනුස්සයට පණට පණක්, ජීවයට ජීවයක් ලබාදෙන කල්ප වෘක්‍ෂයක් තමයි පොල් ගහ කියන්නෙ. මේ විදිහට මිනිසාගේ උපතේ පටන් මරණය දක්වා කුඩු මහත් අවශ්‍යතා සඳහා පොල් ගහේ හැම කොටසක්ම උපයෝගී වෙනවා.

ආයු, වර්ණ, සැප, බල, ප්‍රඥාව කියන කාරණා ලබන්නත් පොල් උපනිශ්‍රය වෙනවා. මනුස්සයා ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් පල්ලම් බහිනකොට, පංච කාමයට ලොල් වුනාට පස්සෙ ලොල් නොවී හිටපු ගුණය ගිලිහිලා ගියා. **පංච කාමයට ලොල් වෙනකොට එතනින් මනුස්සයා කය සන කරගෙන ආයුස අඩු කරගත්තා. බ්‍රහ්ම කල්පික මනුස්සයගෙ තිබුන ආයු ප්‍රමාණය අඩු කරගත්තා. ඒක නැවත වැඩි කරගන්න ඒ ගුණය සිහි කරල තමයි පොල් පැළ හිටවන්නෙ. ඒ නිසා තමයි ඒ අදහසින් හිටෙව්වම කෙනෙක්ගෙ ආයුස වැඩිවෙන්න හේතු වෙන්නෙ.**

හැබැයි ඒ හිටවීමත් මෙච්චර කල් හිටෙව්ව වගේ නිකං ආවට ගියාට හිටවල බෑ. ඒ සඳහා අනුගමනය කළ යුතු ධර්මානුකූල ක්‍රමවේදයක් තියෙනවා. අන්න ඒ ධර්මානුකූල ක්‍රමවේදය ඉස්සෙල්ලම දැනගෙන ඉන්න ඕන. **මිනිස්සු මෙච්චර කාලයක් පොල් පැළයක් හෝ වෙන මොන යම් හෝ ගහක් කොළක් හිටෙව්ව නම්, ඕක හිටෙව්වෙ තමන්ගෙම වත්තක තමන්ගෙම කරගෙන. ඒ කියන්නෙ මේ ගහ මගේ, මේකෙන් ලැබෙන එළදාව සේරම මට, මගේ පිරිසට විතරයි කියන අදහසින්. වෙනත් විදිහකින් කියනව නම් තණ්හාව මුල් කරගෙන.**

**දැන් එහෙම හිටෙව්වම මොකද වෙන්නෙ, ඒ මමත්වය මුල් කරගෙන ඒ පුද්ගලයගෙ කර්ම ශක්තියට යටත්ව තමයි ඒ පොල් පැළය හැදෙන්නෙ, ඒකෙ එළදාව හට ගන්නෙ. මොකද හිටවනකොටම ලෝභ හිතින් මගේ කරගෙන ඉවරයි. ඉතින් ඒ පුද්ගලයා අතීත සංසාරයේ ගස්වැල් විනාස කරල, මිනිස්සුන්ට කන්න බොන්න තියෙන දේ වනසල දාල ඒ ජාතියේ වැඩ කරපු කෙනෙක් නම්, ඒ ලෝභය, ද්වේශය මුල් වෙලා අර ගහෙන් නියම එළදාව ලැබෙන්නෙ නැතිව යනවා. ඒ නැතත්, මගේ කියල ලෝභ හිතින් අල්ල ගත්ත ගමන්ම ඒකෙන් නැගෙන සුද්ධ ශක්තිය අඩු වෙනවා. අද වෙනකොට බොහෝ කොටම සිද්ධ වෙලා තියෙන්නෙ ඕක තමයි. ඒත් එක්කම ඒකට නොයෙක් කෘමි වසංගත, දිළීර, බැක්ටීරියා... ආදී රෝග වැළඳීමේ ප්‍රවණතාවයත් වැඩියි. ඒ වගේම ගහේ සාරත්වය, ඒකෙන් ලැබෙන එළදාව අඩු වෙනවා.**

හැබැයි අපේ ආදි මුතුන් මිත්තන් ඔය විදිහට නෙවෙයි ගහකොළ හිටෙව්වෙ. ඒ අය නියම ධර්මානුකූල ක්‍රමවේදය දැනගෙන හිටියා. ඒ කියන්නෙ තමන්ට සහ තමන්ගෙ පිරිසට විතරක් කියල හිතාගෙන ගස් කොළන් හිටෙව්වෙ නෑ. මතු කාට හරි ප්‍රයෝජනයක් වේවා කියන අදහසින් තමයි හිටෙව්වෙ. කාට හරි කිව්වම මනුස්සයො විතරක් නෙවෙයි, ඒවා ආහාරයට ගන්න සතා සිවුපාවා, තවත් නොයෙක් ආකාරයෙන් නොපෙනෙන ගුප්ත ලෝකවල ඉන්න සත්ත්ව කොටස් පවා අයිති වෙනවා. ආහාර වශයෙන් විතරක් නෙවෙයි, ඒ අයට විමාන වශයෙනුත් ඒ ගස්වැල් ප්‍රයෝජනවත් වෙනවා. මේ විදිහට කිසිම සීමා කිරීමකින් තොරව තමයි එදා හිටපු ඇත්තො ගස්කොළන් හිටෙව්වෙ. මොකද මේ ලෝකයේ සත්ත්වයෙක් විදිහට වාසය කරන හැම කෙනෙකුටම ලෝකය තුල යම් කිසි හිමිකමක් තියෙනවා. අසාධාරණ විදිහට එක්රැස් කිරීම නිසා අන්න ඒ හිමිකම අහිමි වෙලා තමයි පසුකාලීනව ආහාර ඇතුළු ප්‍රත්‍ය පහසුකම් හිඟයක් හට ගත්තෙ. එහෙනම් **ලෝකයට වෙච්ච ඒ ණය ගෙවන්න පොදුවේ කාටත් එල ප්‍රයෝජන ලැබෙන්න කියල ඒ අදහසින් තමයි ගහක් කොළක් හිටවන්න ඕන.** එතකොට එක් කෙනෙක්ගෙ විතරක් නෙවෙයි, හැමෝගෙම පුණ්‍ය ශක්තිය ඒ කරා ඇදිල එනවා.

දැන් මේ වගේ කාරණයක් මීට අවුරුදු ගණනාවකට පෙර රූපවාහිනියේ, ගුවන් විදුලියේ යම් කිසි ගීතයක් ආකාරයකට රූප පෙළක් එක්ක විකාශනය වුනා. පැරණි වැදගත් පෙනුමක් තියෙන සුදු රැවුලක් තියෙන සීය කෙනෙක් පැළයක් හිටවන්න වළක් හාරනකොට පුංචි ළමයෙක් එතනට ඇවිත් ප්‍රශ්න අහනවා. ඒ ඔස්සේ ඇතිවෙන දෙබසක් තමයි ඒකෙන් පෙන්නුම් කළේ.

මොනවද මුත්තේ මොකද කරන්නේ
මොකටද ඔබ ඔය බිම හාරන්නේ

ඔබටත් ළමයෝ නොපෙනේ නොසිතම්
අඹ ඇටයක් සිටුවන්නට හාරම්

දුක සේ සිටුවා අඹ ඇටයක් අද
එක අඹයක්වත් කන්න ලැබේවිද

මම ළමයෝ මින් අඹයක් නොපතම්
යුතුකම පමණක් ඉටු කොට තබනෙම්

තමන්ට නොලැබෙන දේකින් ලෝකෙට
කරන්ට හැකි දේ නොම තේරෙයි මට

පුදුමයි ළමයෝ ඔබෙ ඔය අදහස
හැදුනොත් ඔහොමට ඔබටම වෙයි දොස

පෙර උන් අය සිට වූ අඹ ගස්වල
එලයෙන් අප කවුරුත් ලබනෙමු එල

අපෙන් පසුව එන අයටත් එම එල
ලැබෙන්න සැලසුම අපගේ යුතුකම

ඒ යුතුකම හොඳ හැටි දැනගත්තෙම්
ආයුබොවන් මුත්තේ මම යන්නෙම්

දැන් බලන්න මේකෙන් දෙන අපූරු පණිවිඩය. එදා ටිබෙට් ජාතික

එස්. මහින්ද හාමුදුරුවො බුදු දහමේ එන වැදගත් කාරණාවක් මූල පාදක කරගෙන නිර්මාණය කළ මේ අපූරු සරල පද රචනය, අපේ පින්වත් මහත්වරු කිහිප දෙනෙක් සංගීතයට නගල රූප පෙළක් එක්ක බොහොම ප්‍රිය මනාප විදිහට ඉදිරිපත් කරල තිබුනා. ඒත් දැන් ඒවා දකින්නවත් අහන්නවත් නෑ. අද ඉන්න අය ඒව දන්නෙත් නෑ. ඉතින් ආදියේ තිබ්බ්ච ක්‍රමවේදය තමයි මේකෙන් පෙන්වන්නෙ.

බලන්න එදා හිටපු අපේ ආදි පැරැන්නො ඔය ගස්වැල් හිටවල කෙත් වතු, උයන් වතු, වැව් අමුණු, ළිං පොකුණු, ඒදඬු පාලම්... ආදිය හදල මනුස්සයට ජීවත් වෙන්න සුදුසු පරිසරයක් සකස් කරල දීපු නිසා තමයි අද අපි ඒවායේ ඵල ප්‍රයෝජන භුක්ති විඳින්නෙ. එදා හිටපු පැරැන්නො ඒ හේතුවෙන් ජන සමාජය විසින් දේවත්වයෙන් සැළකුවා. එදා බුද්ධ කාලයේ පවා ඉතා සශ්‍රීක පළතුරු වතු, මල් වතු, උයන් වතු... ආදිය තිබුන බව පැරණි දහම් පොත්පත්වල සඳහන් වෙනවා. ශාක්‍ය ජනපදයේ ලුම්බිණි සල් වනය, කුසිනාරා නුවර උපවත්තන සල් වනය, සැවැත් නුවර ජේතවනය, බරණැස මිගද වනය, උරුවෙල් දනව්වේ භද්‍රා මල් වනය, විසාලා මහනුවර මහ වනය, අම්බලට්ඨිකා අඹ වනය, ජීවක අඹ වනය, රජගහ නුවර වේළු වනය, තල් වනය, අනුපිය අඹ වනය... මේ ආදී වශයෙන් පළතුරු වතු, උයන් වතු, මල් වතු... ආදිය පිළිබඳ විවිධ සූත්‍ර දේශනාවල සඳහන් වෙනවා. සංයුක්ත නිකාය 1 - 60 වෙනි පිටුවේ එන <u>වනරෝප සූත්‍රයෙන්</u> මේ කාරණය පෙන්වනවා.

> ආරාම රෝපා වන රෝපා
> යේ ජනා සේතු කාරකා
> පපඤ්ච උදපානඤ්ච
> යේ දදන්ති උපස්සයං
> තේසං දිවා ච රත්තෝ ච
> සදා පුඤ්ඤං පවඩ්ඪති
> ධම්මට්ඨා සීල සම්පන්නා
> තේ ජනා සග්ගගාමිනෝ ති

යම් කෙනෙක් ගහකොළ, උයන් වතු, ඵල වතු, කෙත් වතු, පියවි වන වගා කරල දෙනවද, ආරාම, ළිං, පොකුණු, ඒදඬු, පාලම්... ආදිය තනල දෙනවද, ඔවුන්ට හැම කාලයේම දිවා රෑ පින් වැඩෙනවා. ධර්මයේ හැසිරෙන සීල සම්පන්න ඒ ඇත්තන්ට දෙව් සැපත හිමි වෙනවා.

ඉතින් ඔය දැන් තියෙන කොස් ගහක්, පොල් ගහක් වුනත් අද අපි විවිධාකාරයෙන් ප්‍රයෝජනයට ගන්නෙ එදා ඒ ඇත්තො තමන්ගෙ යුතුකම හරියට ඉටු කරපු නිසා. නමුත් අද ඉන්න සමහර උදවිය ඒවා දන්නෙ නැති නිසා තමන්ගෙ බඩවියත විතරක් රැකගන්න ඉවක් බවක් නැතිව ගස්කොළන් කපල දානවා. විශේෂයෙන් සමහර ඉඩම් වෙන්දේසි කරන උදවිය ඉවක් බවක් නැතිව සරුසාර පොල් ඉඩම් විනාස කරල වෙන්දේසි කරල විකුණන ආකාරයත් පසුගිය කාලයේ දකින්න තිබුනා. කල්පනා කරල බලන්න පොල් ගහක් ඒ මට්ටමට හැදිල වැඩිල ඵලදාව දෙන්න කොච්චර කාලයක් යනවද? නමුත් කපල දාන්න යන්නෙ එක මොහොතයි. කොහොම හරි ඒ සියලු කාරණාවල ප්‍රතිඵලයක් විදිහට අද වෙනකොට ස්වභාවික චක්‍ර අවුල් වෙලා, ස්වභාවික විපත් වැඩි වෙලා, දරුණු පොල් හිඟයක් රට තුල ඇතිවෙලා පහුගිය කාලෙ රුපියල් සියයටත් පොල් ගෙඩිය ගණන් ගිහින් පිටරටින් ආනයනය කරන තත්ත්වයටත් පත් වුනා.



ඉස්සර අපේ මිනිස්සු පොල් ගෙඩියේ වටිනාකම දැනගෙන ඒකෙන් මොන තරම් නම් ප්‍රයෝජන ගත්තද? පොල් ටික මිරිකල ඉතිරි වෙන රොඩ්ඩ පවා අපතෙ දැම්මෙ නෑ. ඒකත් තලල හොද්දට දාල කලවම් කරල ගත්තා. ඒකෙ අපතෙ දාන්න තරම් දෙයක් නෑ කියල ඒ අය දැනගෙන හිටියා. මොකද ඒ තරම් විස නාසක ඖෂධීය ගුණයක් ඒකෙ තිබුනෙ. පිරිසිදු පොල් තෙල්වල පවා තියෙන විස බීජ නාසක, ඖෂධීය ගුණය ඉතා ඉහලයි. නමුත් පසුකාලීනව බටහිර ජාතිකයන්ගෙ දිරච්ච ලුණු කෑම නිසා ඒ වටිනා ආහාරය අපෙන් ඈත් වෙලා, පොල් තෙල් භාවිතය කොලෙස්ටරෝල් වැඩි වෙලා හෘදයාබාධ ඇතිවෙලා මරණය වැළඳ ගන්නත් හේතු වෙනව කියල මිනිස්සු බය කළා. මොකද ඒ අයගෙ ආදේශක විකුණ ගන්න ඕන නිසා. කොහොම හරි දැන් නැවතත් මේ මතු වෙන දහම් රටාවත් එක්ක ඒ පැරණි ක්‍රම රටාවට යොමු වෙන්න අවස්ථාව උදා වෙලා තියෙනවා. ඒ නිසා **පොල් පැළය ආශ්‍රිතව මේ මතු කරන දහම් ක්‍රමවේදය කෙනෙක්ගෙ ආයුස වැඩි කරන්න විතරක් නෙවෙයි, නොයෙක් ලෙඩ රෝග විපත්ති ඇතුළු භව භෝග විනාසයටත්, දැන් තියෙන සහ මතු හට ගන්න තියෙන පොල් අර්බුදයටත් හොඳ විසඳුමක් වේවි.**

එහෙනම් අඩු ආයුස තියෙන රෝගී කෙනෙක් වෙනුවෙන් හෝ එහෙම නොවෙන කෙනෙක් හෝ කොහොමද හරියට පොල් පැළයක් හිටවන්නෙ? යම් කිසි රෝගී වෙච්ච කෙනෙක් නම්, රෝගී නොවුනත් ඉදිරියේදී යම් කිසි මාරකයක් නිසා ආයුස අඩු වීමේ ප්‍රවණතාවයක් තියෙන බව දැනගත්ත කෙනෙක් නම්, පොල් පැළයක් අරගෙන මතු පහල වෙන කාට හෝ ඵල ප්‍රයෝජනයක් වේවා කියන අදහසින් පොදු ස්ථානයක හිටවන්න ඕන. බෞද්ධ සිද්ධස්ථානයකට පූජා කළා නම්, සම්බුද්ධ සාසනය මුල් කරගෙන සියලු ලෝක වාසීන්ට ඵල ප්‍රයෝජනයක් වේවා කියල පන්සල් භූමියක හිටවන්න ඕන. බෞද්ධ නොවෙන කෙනෙකුට වුනත් අවශ්‍ය නම් සියලු ලෝක වාසීන් උදෙසා කියල තමන් අදහන ආගමට අයත් සිද්ධස්ථානයක හිටවන්න පුළුවන්. එතකොට පොදු ස්ථානයක හිටවන්න ඕන තමන්ට ඵල ප්‍රයෝජන ගන්න කියන අදහසින් නෙවෙයි, මතු කාට හරි ඵල ප්‍රයෝජනයක් ලැබේවා කියන අදහසින්මයි. ඒකෙන් කියවෙන්නෙ නෑ තමන්ට ප්‍රයෝජන ගන්න

බෑ කියල. තමන්ට විතරක් නෙවෙයි, පොදුවේ සියලු සත්ත්වයෝ වෙනුවෙන් කියලයි හිටවන්න ඕන. හැබැයි පූජා කරන්න තැනක් නැත්නම්, හිටවන්න පොදු ස්ථානයක් නැත්නම්, මේ ක්‍රමවේදය තේරුම් අරගෙන තමන්ගෙ කරගන්නෙ නැතිව, පොදුවේ හිටවනවා කියන අදහස මුල් කරගෙන තමන්ගෙ වත්තෙ හිටෙව්වත් ගැටළුවක් නෑ.

ඉතින් මේ ක්‍රමවේදය පොල් ගහට විතරක් සීමා කරන්න ඕන නෑ. අඹ ගෙඩියක් කාල අඹ ඇටය නිකං විසි කරල පැළ වෙන එක මේකට අදාළ නෑ. නමුත් **තමන් කාපු අඹ ගෙඩියේ අඹ ඇටය තවත් කෙනෙක්ගෙ හිත සුව පිණිස වේවා, මතු කාට හරි මම මේ හිටවන අඹ ඇටයෙන් ඵල ප්‍රයෝජනයක් වේවා කියන අදහසින් හිටෙව්ව නම්, කුරුල්ලෙක් හරි ඒකෙ ගෙඩියක් කන වාරයක් පාසා ඒ පින රෝපණය කරපු කෙනා කරා යනවා. ඒ සඳහා උදව් උපකාර කරපු අය කරා යනවා.** ඔන්න ඔය අදහසින් ආයුස අඩු කෙනෙක් වෙනුවෙන් පොල් පැළයක් රෝපණය කළොත්, ඒ ගුණයට අනුරූපව හීන වෙච්ච ආයුස එක්තරා ප්‍රමාණයකට වැඩි වෙන්න හේතු වෙනවා. සමහරවිට මාරකයක් තිබුන නම් ඒක කැපිල යන්නත් හේතු වෙනවා.

මේ වගේ අවස්ථාවකදි රෝගියාට පොල් පැළය හිටවන්න බැරි නම් ඔහු හෝ ඇය ලවා අත ගස්සවල පවුලට සම්බන්ධ කෙනෙක් විසින් හිටවන්න පුළුවන්. එහෙම නැත්නම් නිරෝගීව ඉන්න කෙනෙකුට තමන්ගෙ ආයුස අඩුයි කියල මොනව හරි ක්‍රමයකින් දැනගන්න ලැබුනොත් තමන් විසින්ම ඒක හිටවන්න ඕන. එතකොට තමයි ඒ ප්‍රතිකර්මය වඩාත් ප්‍රබල වෙන්නෙ. ඒ අවස්ථා දෙකම බැරි නම් ඒ රෝගියා වෙනුවෙන් කියල පවුලේ කෙනෙක් විසින් පොල් පැළයක් හිටවන්න ඕන. එතනදිත් තමන්ගෙ වයසට වඩා වැඩිපුර එකක් වෙන්න පොල් පැළ හිටවන්න පුළුවන් නම් වඩාත් හොඳයි. උදාහරණ විදිහට වයස අවුරුදු 20 ක කෙනෙක් නම් පොල් පැළ 21 ක් හිටවනවා.

ඒ වගේම සමහර අවස්ථාවල පූජනීය ස්ථානවලට පොල් පැළ පූජ කළාම ටික දවසක් තිබිල අරගෙන කුණු ගොඩට විසි කරන අවස්ථාත් දකින්න තියෙනවා. එහෙම කළොත් ඒ පූජාව සිද්ධ වුනත්, ඒකෙන් හරියට ඵල ප්‍රයෝජනයක් ගත්ත වෙන්නෙ නෑ. ඒ නිසා පූජනීය ස්ථානයකට පූජ කළොත් ඒක ඒ පුණ්‍ය භූමියේ බැරි නම් වෙනත් සාසනික පූජා භූමියකම හිටවන්න ඕන. නමුත් සාසනය මුල් කරගෙන පූජා කරපු දෙයක් නිසා වෙනත් පුණ්‍ය ස්ථානයක රෝපණය කරන්න ලබා ගත්තත් සාසනයෙන් අවසර ලබාගෙන එතනින් පැළ ඉවත් කර ගැනීම තමයි වඩාත් සුදුසු.

ඒ වගේම මේ කාරණය සඳහන් කරල භික්ෂූන් වහන්සේ නමක් ලවා පුණ්‍යානුමෝදනාවකුත් කරගන්න පුළුවන් නම් වඩාත් හොඳයි. මොකද එතකොට තමයි ඒ පින විහිදිලා පැතිරිලා ගිහින් තමන්ගෙ අතින් අවැඩ අසාධාරණ වෙච්ච අයට වන්දිය හරියට ගෙවිල නිදහස් වෙන්නෙ. ඒ නිසා විහාරස්ථානයක පොල් පැළයක් හෝ වෙනත් පැළ වර්ගයක් හෝ හිටවනව නම් (පූජා කරනව නම්) ඒ අවස්ථාවෙදි ඒ පැළ සම්මා සම්බුද්ධ සාසනයටත් සියලු ලෝක සියලු සත්ත්වයන්ටත් ගුණ උපහාර පූජාවක් වශයෙන්, උපකාරයට කෘතෝපකාර වශයෙන් සියලු අභිවෘද්ධිය උදෙසා (පූජා කරමි)/// (පූජාම වේවා)/// කියල පූජා කරල හිටවන්න ඕන.

වෙනත් පොදු ස්ථානයක හෝ තමන්ගෙම වත්තක හෝ පැළ රෝපණය කරනව නම්, ඒ අවස්ථාවෙදිත් ඒ පැළ සියලු ලෝක සියලු සත්ත්වයන්ටම උපකාරයට කෘතෝපකාර වශයෙන් සියලු අභිවෘද්ධිය උදෙසා (පූජා කරමි)/// (පූජාම වේවා)/// කියල පූජා කරන්න ඕන. එහෙම නැත්නම් සියලු ලෝක සියලු සත්ත්වයන්ටම සියලු අභිවෘද්ධිය සඳහා මේ පැළ (කැපයි)/// කියල කැප කරන්න ඕන. පැළ වර්ග පූජා කිරීමෙන් හෝ පැළ හිටවල අවසන් කිරීමෙන් පසු කමා කරල පින් අනුමෝදන් කරන්න ඕන.

අනන්ත සසර පටන් මේ මොහොත දක්වාම සම්මා සම්බුද්ධ සාසනයටත් සියලු ආර්ය උත්තමයන් වහන්සේලාටත් සියලු ලෝක සියලු සත්ත්වයන්ටත් දැන හෝ නොදැන හෝ සිදු වූ සියලු වැරදි, ප්‍රමාද දෝස, අවැඩ අසාධාරණ, හිංගි හිංසාවලට මේ මොහොතේ ඒ සෑම සියල්ලෝම (කමා කරමි)/// (කමාව ලැබේවා)/// කියල සියලු ලෝක සියලු ලෝ සතුන් සිහිපත් කරල සාසන කමා කිරීමක් කරන්න ඕන. ඊට පස්සෙ සදේවක ලෝකයාට පින් අනුමෝදන් කරන්න ඕන.

මේ මොහොතේ පහල කර ගත්තා වූ සියලු පුණ්‍ය කුසල ආශිර්වාදයෝ අවැඩ අසාධාරණ, හිංගි හිංසාවලට ලක් වූ සියලු සත්ත්වයන්ටත්, මේ සත් කටයුත්තට ශ්‍රම කඳුලකින් හෝ වචනයකින් හෝ චිත්ත ප්‍රසාද මාත්‍රයකින් හෝ සහසම්බන්ධ වෙච්ච කෙනෙක් ඉන්නව නම් ඒ සියලු දෙනාටත්, දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස, සතර වරිගයක ඥාති හිත මිත්‍රාදී කොට්ඨාස ඇතුළු අප්‍රමාණ ලෝකවාසී සියලු සත්ත්වයන්ටත් දස අකුසලයන්ගෙන් මිදිල දස කුසල ධර්මයන් වඩන්නත්, දස පුණ්‍ය ක්‍රියා කරන්නත්, දුගති අත්බැව්වලින් මිදිල සුගති අත්බැව් ලබන්නත්, සුගතිගත සත්ත්වයින්ට සුගතියෙන් සුගතියට පත්වෙන්නත්, මිසදිටු සතුන්ට මිසදිටු අත්බැව්වලින් මිදිල සම්දිටු ගුණ පහල කරගන්නත් මේ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ සෑම සියල්ලන්ටම (අනුමෝදන් කරමි)/// (අනුමෝදන් වෙත්වා)/// කියල මේ විදිහට සියලු ඥාති හිත මිත්‍රාදීන්ටත් සියලු ලෝක සියලු සත්ත්වයන්ටත් ඒ පින් විහිදුවා පතුරවන්න ඕන.

මේ සම්බන්ධයෙන් ඒ ක්‍රමවේදය වහරක හාමුදුරුවන්ගෙන් දැනගෙන අත්හදා බලල අත්දැකීම් ලබපු කෙනෙක් තමයි ගොඩගම පදිංචි ආර්. එච්. එම්. දිසානායක මහත්තය. ඒ මහතා තමන්ගෙ ඒ අත්දැකීම් විස්තර කළේ මේ විදිහට.

"දවසක් මාස 7 ක් වගේ අඩු වයසින් ඉපදිච්ච දරුවෙක් ජීවත් කරවන්න බෑම කියල වෛද්‍යවරු නිගමනය කරල තිබුනා. දවස් 2 - 3 ක්වත් ජීවත් වෙයි කියල විස්වාසයක් තිබුනෙ නෑ. ඒ දරුවගෙ හඳහන බලල කියල තිබුනෙත් බේරන්න බෑ කියල. ඒ දරුවගෙ නැන්ද කෙනෙක් මට මේ ගැන දැනුම් දුන්නට පස්සෙ මට ආපු අදහස තමයි, 95% ක් ජීවත් කරවන්න බැරි පැත්තටත්, 5% ක් පුළුවන් පැත්තටත් තියෙනවා කියන කාරණය. මට ආවෙ ඒ 5% න් පටන් ගත්තොත් ගොඩ දාන්න පුළුවන් කියන අදහස. ඒ අනුව මම කිව්වා, දරුව වෙනුවෙන් පොල් පැළ 2 - 3 ක් හිටවන්න කියල. දරුව ඉපදුන හැටියෙ නිසා දරුවට අත ගස්සන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා ඒ දරුවගෙ ඥාතීන් මම කියපු විදිහට ඒ දරුව වෙනුවෙන් එහෙම කළා. ඒ පොල් පැළය කැලණිය බෝධියට පූජා කරල කැලණිය පන්සල් වත්තෙමයි හිටෙව්වෙ. දැන් ඒ ළමයට අවුරුදු 3 ක් විතර වෙනවා. මුකුත් ප්‍රශ්නයක් නෑ.



තවත් කුඩා දරුවො දෙන්නෙක් හිටියා. එක් කෙනෙක්ගෙ වයස මාස 5 යි. අනෙක් දරුවා අවුරුදු එකහමාරයි. දෙන්නම හදවත් රෝගීන්. එක දරුවෙක්ගෙ කකුල් දෙක ඇඹරිලා. මට පෙනුනෙ සුනාමියට ගහගෙන ගිය කෙනෙක් වගේ. එහෙම ආපු ඇඹරිල්ලක් තමයි තිබුනෙ. ඉතින් මේ දරුවො දෙන්නව මට ගෙනත් පෙන්නුවා. මට අදහස ආවෙ එක දරුවෙක්ගෙ තත්ත්වය 10% ක් හොඳ නෑ, 90% ක් හොඳයි කියල. ජීවිත අවදානමක් නෑ. අනික් දරුවට 95% ක් හොඳ නෑ, 5% ක් හොඳයි. ජීවිත අවදානම වැඩියි. සැත්කමක් කළොත් බේරන්න පුළුවන් සම්භාවිතාව 5% යි. මම ඒ දරුවො දෙන්නම වෙනුවෙන් පොල් පැළ හිටවන්න කිව්වා. පස්සෙ බෝධි පූජා දෙකකුත් වෙන වෙනම තියල දෙන්නම එකම දවසෙ තමයි සැත්කමට භාජනය කළේ. ඒ දරුවො දෙන්නගෙම ජීවිත බේරුනා. ඊට අවුරුදු එකහමාරකට විතර පස්සෙ අර ජීවිත අවදානම තිබ්බ්ච දරුව මට ගෙනත් පෙන්නුවා මේ ළමය දන්නවද කියල. ඇත්තටම මට මතක නෑ. අර පොල් පැළ හිටවල බෝධි පූජා තියල ගොඩ ගත්ත ළමය තමයි මේ කියල ඒ අය කිව්වා. ඉතින් එදා උඩුකුරු අතට දාල තිබ්බ්ච දරුවා දැන් බිම තිව්ව විතරයි දුවන්න ගත්තා. මේ අර බේරගන්න බෑ කියපු දරුවා. හැබැයි මම කියන්නෙ නෑ ඒකෙන් විතරක් හොඳ වුනයි කියල. වෛද්‍ය විද්‍යාවෙ දක්ෂතාවයකුත් තියෙනවා. නමුත් හොයල බැලුවම, පෙර හේතුවට ප්‍රතිකාර කළාම තමන් කරපු අවැඩ අසාධාරණයට වන්දි ගෙවිල, කරන බෙත් හේත් ප්‍රත්‍ය වෙනවා.

ඒ වගේම තව දවසක් මම කැලණි පන්සලට යනකොට කෙනෙක් මට කිව්වා, මෙන්න මෙහෙම අසාධ්‍ය රෝගියෙක් ඉන්නවා ඔහුට මොනවද කරන්න පුළුවන් කියල. මට වෙන මොකවත් කියන්න වුනේ නෑ. පුතේ අටපිරිකරක් අත ගස්සල පූජා කරන්න කියල තමයි කියවුනේ. පොල් පැළ කතාව දැනගෙන තිබුනත් ඒ කතාව මට කියන්න හිතුනෙ නෑ. ඊට පහුවදා මට ආරංචි වුනා ඒ මනුස්සය නැති වුනා කියල.

ඒ වගේම තවත් කෙනෙක් වෙනුවෙන් ඔය විදිහට පොල් පැළයක් පන්සලක රෝපණය කළා. ඔහු වයස අවුරුදු 52 ක විතර කෙනෙක්. ඔහුගෙ හඳහන බලපු හැමෝම කියල තිබුනෙ නම් මුකුත් ගැටළුවක් නෑ කියල. නමුත් මට ඔහු සම්බන්ධයෙන් මොනව හරි අඩුපාඩුවක් දැනුනා. මොකද ඔහුගෙ හදවතේ යම් කිසි රෝගී තත්ත්වයක් තිබුනා. එතකොට මම වහරක හාමුදුරුවන්ගෙන් අහල තිබුනා, හදවතේ චලන ගතියක් තියේ නම් ඒ වගේ රෝගියෙක්ගෙ සාමාන්‍යයෙන් තියෙන්නෙ මරණාසන්න අවස්ථාවක් වගේ කියල. ඒ වගේ අවස්ථාවක පොල් පැළයක් රෝපණය කරන්න කියල මම ඒ අයට ඒ කාරණය කිව්වා. ඒ වගේම මාස 3 ක් යනකල් හැම තැනකදිම, විශේෂයෙන් වැටෙන්න තියෙන අවස්ථාවලින් ප්‍රවේසම් කරන්න කියලත්, ඔහුට වාහන පදවන්න දෙන්න එපා කියලත් කිව්වා. ඒ විදිහට මේ මනුස්සයව රැක ගත්තා. ඔහු උදේට සාමාන්‍යයෙන් ඇවිදින්න යනවා. දවසක් පාරෙ ඇවිදගෙන යනකොට ගලක් බුරුල් වෙලා තිබිල ඒ ගලට අඩිය තියනකොටම ඇදගෙන වැටිල අත කැඩුනා. හැබැයි එතකොට පොල් පැළ හිටවල ඉවරයි. ඒත් අතට වෙදකම් කරන්න ගිහින් බෙහෙත් විස වුනා. ඒක අන්තිමට වකුගඩුවටත් බලපෑවා. ඒකටත් වෙදකම් කරල බොහොම අමාරුවෙන් තමයි බේරුනේ. ජීවිතයට හානියක් වුනේ නෑ.

ඒ වගේම මේ ළඟදි මම දන්න කියන එක්තරා වෛද්‍යවරයෙක්ගෙ හඳහන ගමේ හිතවතුන් කිහිප දෙනෙක්ම පරීක්ෂා කරල බලල ආයුස අඩු බව කියල තිබුනා. ඒ අය මාව හමුවෙන්න ඇවිත් මාත් එක්ක ඒ කාරණය කිව්වම මම ඒ අයට කිව්වා, වහරක හාමුදුරුවො දේශනා කරපු මෙහෙම ධර්මානුකූල ක්‍රමවේදයක් තියෙනවා, මේ විදිහට පොල් පැළ කිහිපයක් පොදු තැනක රෝපණය කරන්න කියල. එක පාරටම හිටවන්න බැරි නම් ටික ටික හිටවන්න පුළුවන්. ඒ වගේම ජය ශ්‍රී මහා බෝධියට පොල් පැළයක් පූජ කරල අනුරාධපුර තියෙන වෙනත් පන්සලක හිටවන්නත් අවස්ථාව සලස්වල දුන්නා. ඒ විදිහට හිටවල හාමුදුරුවො නමක් ලවා අනුමෝදන් කරවගන්න කියලත් කිව්වා. ඒ අය දැන් ඒක කරගෙන යනවා. ඔය වගේ ගොඩක් අත්දැකීම් තියෙනවා.

මරණය කියන එක ඉතින් කොහොමත් කවදහරි සිද්ධ වෙනවා. මෙතනදි අකල් මරණයයි වෙනස් කරන්න තියෙන්නෙ. සාමාන්‍යයෙන් මම හිතන දෙයක් තමයි, ඔය වගේ අවස්ථාවක පොල් පැළ හිටවල ගුණ වඩපු උත්තමයෙක් ලවා අනුමෝදනාව කරගත්තොත් බේරන්න පුළුවන් කියල. මොකද ඒක හුඟක් ප්‍රබලයි."

ඒ වගේම මේ සටහන තබන මටත් මේ සම්බන්ධයෙන් හොඳ අත්දැකීමක් තියෙනවා. මගේ මවත් පසුගිය කාලයේ බොහොම දරුණු විදිහට අසනීප වෙලා වෛද්‍යවරුන්ටත් රෝගී තත්ත්වය හරියට අඳුන ගන්න බැරි වෙලා තිබුනා. රෝහලෙත් මාසයකට අධික කාලයක් හිටියා. ලෝක සම්මතයේ තියෙන ජන්ම පත්‍ර ආදිය පරීක්ෂා කිරීමෙන් පවා කියවුනේ තදබල ඊරාෂ්ඨක අපළ කිහිපයක්ම එකවිට යෙදිල තියෙන නිසා ගොඩ ගන්න අමාරුයි කියල. නමුත් වහරක හාමුදුරුවො මතු කළ මේ ක්‍රමවේදය දැනගන්න ලැබ්ච්ච නිසා, ඒ අනුව පොල් පැළ කිහිපයක් අත ගස්සවල අධිෂ්ඨාන කරල පූජනීය ස්ථාන සහ පොදු ස්ථාන කිහිපයක හිටෙව්වා. තවත් සාසනික ප්‍රතිකර්මත් කළා. ඊට දින කිහිපයකට පසු ඇය සාමාන්‍ය විදිහට සුව අතට හැරිල තවත් පින්කම් කිහිපයකටත් සහභාගි වුනා.

දැන් බලන්න අද රටේ පොඩි ළමයි විතරක් නෙවෙයි, වයසට ගිහින් මැරෙන්න ඔන්න මෙන්න කියල ඉන්න අයත් උපන් දින සමරන හැටි. සමහරු මහ විසාල වියදමක් දරල පැය කිහිපයක ආස්වාදයක් භුක්ති විඳින්න කේක් කපල, ඉටිපන්දම් ගහල, බැලුම් බෝල එල්ලල තවත් රටේ නැති ආටෝප එකතු කරල මහා සාද පවත්වනවා. ලොකුවට වියදම් කරන්න වත්කමක් නැති අයත් තමන්ට පුළුවන් විදිහට ඔය ටිකම තමයි කරන්නෙ. අවුරුද්දකින් නාකි වෙනකොට ඕකට සාදයක් තියනවා. මොන තරම් මෝඩකමක්ද? කෙනෙකුට කන්න වේලක් දෙන්න එපා කියන එක නෙවෙයි මේ කියන්නෙ. ඒ සීමාව ඉක්මවා ගිහින් මෝහයෙන් මුළා වෙන් කරන වැඩ පිළිවෙලයි නතර කරන්න ඕන. ඒ නිසා දැන්වත් මේ යට ගිහින් තිබුන දහම් ක්‍රමය නැවත මතු කරල දුන්නට පස්සෙ, **අඩු ගානෙ තමන්ගෙ උපන් දිනය දවසෙදිවත් තමන්ටත්, රටටත්, සතර වරිගයේ ඥාති හිත මිත්‍රාදීන්ටත්, අනන්ත ලෝක සත්ත්වයින්ටත් වැඩක් වෙන විදිහට පොල් පැළයක් හරි හිටවන්න පුළුවන් නම්, ඒ සියලු දෙනාටමත් සන්තෝස වෙලා තමන්ට ඉදිරියේදි එන්න තියෙන කර්ම දෝසත් කැපිල යාවි.** එතකොට අර විදිහට උපන් දිනය සමරනකොට 50 - 60 ක් සහභාගි වෙලා මුළා සතුටක් භුක්ති විඳිනව වගේ නෙවෙයි, දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස ආදී සැහෙන පිරිසකට දැකල සන්තෝස වෙලා පින් අනුමෝදන් වෙන්න පුළුවන්කම ලැබෙනවා. ඉදිරියේදි කාටහරි එළ ප්‍රයෝජනයක් වෙනවා. ඉතින් **ඒක කරන්න ලෙඩක් දුකක් හැදෙන කල්, මරණාසන්න මොහොත එනකල් බලාගෙන ඉන්න ඕන නෑ. පුළුවන් අවස්ථාවෙදි කරන්න.** ඒ නිසා මේ ක්‍රමවේදයට අනුව කටයුතු කරන්න තමන්ගෙ ඥාති හිත මිත්‍රාදීනුත් දැනුවත් කරනව නම් ඒකත් මහා සත් කටයුත්තක්.

ඒ වගේම ඉස්සර ගොක් බඳිනවා කියල සිරිතක් තිබුනා. එතනදි තමන්ගෙ වත්තෙ තියෙන පොල් ගස්වලින් හොඳම එළදාව තියෙන පොල් ගහ තෝරගෙන ඒකෙ අඩි 6 - 7 ක් උඩින් කඳ වටේට ගොක් කොළයක් බැඳල ගැට 3 ක් දානවා. ඒකත් කරන ක්‍රමයක් තියෙනවා. ගහ වටේට තුන් වතාවක් ගිහින් ගහට වැඳල, මේ ගහෙන් ලැබෙන සියලු එළදාව අද පටන් අවුරුද්දක කාලයකට සම්බුද්ධ සාසනයට, දෙවියන්ට කැප කරනවා කියල පොරොන්දු වෙලා තමයි ගොක් කොළය ගැට ගහන්නෙ. සමහර අවස්ථාවල දෙවියන්ට කැප කරනවා කියල ව්‍යවහාරයේ කිව්වත් ඒකෙන් ගන්න එළදාවෙ අග්‍ර කොටස බුදුන් ප්‍රමුඛ සාසනයට තමයි පූජා කරන්නෙ.

දැන් මේ විදිහට කළාම හරියටම අවුරුද්දක් යනකල් ඒ ගහේ ගෙඩි ඇතුළු එළදාවෙ කිසිම දෙයක් තමන්ගෙ පුද්ගලික ප්‍රයෝජනයට ගන්නෙ නෑ. ඒ පොල් ගහේ ගෙඩිවලින් කිරිබතක් හැදුවත්, තෙල් ටිකක් හින්දත් ඒකෙ අග්‍ර කොටස සාසනය උදෙසා තමයි පූජ කරන්නෙ. ඒ වගේම ඉතිරි ඒවා සාංඝික දානවලට, දෙවියන් උදෙසා කරන දේව පූජාවලට, ගම් මඩුවලට, කිරි අම්මාවරුන්ගේ දානවලට දෙනවා. හැබැයි දුගී මගී යාචක වැඩිහිටි ආදීන්ට දෙන දානවලට යොදා ගන්නෙ නෑ. සම්බුද්ධ සාසනය සහ දෙවියන් මුල් කරල කරන පින් කටයුතුවලට විතරයි යොදා ගන්නෙ. පොල් ටික කඩල විකුණල මුදල් ගත්තොත් ඒකත් සාසනය උදෙසා හෝ ඒ වගේ පින් කටයුත්තකට හෝ යොදවනවා. ඒ ගහෙන් වැටෙන පොල් අත්ත, පොල් කොළපුව පවා යොදා ගන්නෙ ඒ වගේ පින් කටයුත්තකට. සමහරවිට දානයක් උයන්න ලිප ගිනි මොළවන්න යොදා ගන්න පුළුවන්. යම් කිසි විදිහකින් එහෙම අවස්ථාවක් ආවෙ නැත්නම් පොල් ගෙඩියක් හරි කඩල ඒකෙන් තෙල් හිඳල බුදුන්ට පහනක් හරි පත්තු කරනවා. හැබැයි සාංඝික දානයක් දුන්නොත් ඒකෙ ඉතිරි කොටස දානමය පුණ්‍යකර්මයට සහසම්බන්ධ වෙච්ච අයටත් තමන්ටත් ගන්න පුළුවන්.

දැන් මේ විදිහට කළාම ඒ පොල් ගහට දේවතා එළි එනවා. ඒ ගහට අරක් ගත්තු දෙවි දේවතාවොත් ඒ පින් අරගෙන ඒ අයට ආශිර්වාද කරනවා. අවුරුද්දක් සම්පූර්ණ වෙත්දි ඒ ගහේ කැප ඉබේම ඇරෙනවා. ඊළඟට ඒ ගහ ගන්නෙ නැතිව වත්තෙ තියෙන තවත් සශ්‍රීකම පොල් ගහක් තෝරගෙන ඒකටත් අර විදිහටම කියල ගොක් කොළයක් බඳිනවා. මේ විදිහට අවුරුද්දෙන් අවුරුද්ද හැම ගහකටම ඔය දේ සිද්ධ කළාම ඒ වත්තෙ තියෙන ඔක්කොම ගස් සරුසාර වෙනවා. ඒ ඒ ගස්වලට වෙනම වෙනම අරක් ගත්තු දෙවි දේවතාවො ඒ පින් අරගෙන සන්තෝස වෙලා ආශිර්වාද කරනකොට සශ්‍රීකත්වය වැඩියි. එකම ගහක් තෝර ගන්නෙ නැතිව මාරුවෙන් මාරුවට තියෙන හැම ගහකටම කරන්නෙ ඒකයි. ඒ වගේම ඒ ඉඩම්වල මුල් හිමිකරුවන් මියගිහින් කොහේ හරි ඉඳගෙන බලාගෙන ඉන්නව නම් ඒ අයත් දැකල පැහැදිලා සන්තෝස වෙලා ආශිර්වාද කරනවා. ඒ ඉඩම් සශ්‍රීක වෙන්නත් ඒකත් හේතු වෙනවා.

දැන් මේ විදිහට සිද්ධ කළාම ඒ ගෙදර උදවියට භව භෝග සැපත, ණය නැති බව, වරදක් නැති බව කියන ගුණාංග ලැබෙන්න හේතු වෙනවා. වත්තෙ තියෙන අනෙක් ගස් කොළන් පවා සරුසාර වෙනවා. ඒ අයගෙ වත්තෙ හරක් රංචුවක් ඉන්නව නම් ඒ හරකුන්ට කුර රෝග, ලෙඩ රෝග, වසංගත රෝග හැදෙන්නෙ නෑ. අකාලයේ මැරෙන්නෙ නෑ. උන් පවා ආරක්ෂා වෙනවා. තමන්ගෙ වත්තෙ දේවල් හොරකම් කරන්නෙ නෑ. ආරක්ෂාව රැකවරණය ලැබෙනවා. ඉතින් මේ විදිහට එදා ගමේ හිටපු හැමෝම ඔය වැඩේ කළාම මුළු ගමම සරුසාරයි. සමගිය සමාදානය රජයනවා. **එදා තිබිච්ච මේ දැහැමි ක්‍රමවේදය අදත් ක්‍රියාවට නංවන්න පුළුවන් නම් කාලයක් යනකොට ඒකෙ යහපත් ප්‍රතිඵල හැමෝටම අත්දකින්න ලැබේවි.**

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.



බේඳුරු දළු



ගැටකොළ



බේත් සාරණ



හීරැස්ස පළු

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 10

**ගැටකොළ** – හොඳින් හිරු එළිය වැටෙන, සාමාන්‍යයෙන් මුඩු ඉඩම්වල ස්වභාවිකව බහුලව වැවෙන පැළෑටියක්. දණ්ඩ දෙපසට ළා කොළ පාට තරමක් දිගටි රවුම් කොළ රාශියක් දකින්න පුළුවන්. පඳුරක් ආකාරයට පොළව බදාගෙන වැවෙනවා. කොළවල කුඩා බූවක් දකින්න පුළුවන්. හෙළ වෙදකමේදී කොළ, මුල්, ඇට සහ සම්පූර්ණ පැළෑටියම භාවිතා කරනවා. අස්ථි අකර්මණ්‍යතාවය මග හරවා ගැනීම, වයසට යනකොට ඇතිවෙන ඔස්ටියෝපෙරෝසිස් හෙවත් අස්ථි දිරාපත් වීම... ආදී රෝග වළක්වා ගැනීම, හොඳ රතු රුධිරාණු මට්ටමක් පවත්වා ගැනීම, හන්දිපත් වේදනා දුරු කිරීම, ආහාර රුචිය වැඩි කිරීම... ආදී ගුණාංග බොහොමයක් අන්තර්ගතයි. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරන නිසා මලබද්ධය ආශ්‍රිත රෝගී තත්ත්වයනුත් දුරු වෙනවා. සාමාන්‍ය මැල්ලුමක්, පලා ව්‍යංජනයක් ආකාරයට හෝ පිරිසිදු තෙලෙන් පිසගෙන බැදුමක් ආකාරයට හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**බේඳුරු දළු** – තෙල් බේත් ආදී වස විස ගහන්නෙ නැති ගස් ගල් උඩ, බෑවුම් සහිත කඳු ආශ්‍රිත ගස්වල, බඩවැටි ඕවිට ආශ්‍රිත ගස්වල, දිය පාරවල් උඩින් යන ගස්වල ස්වභාවිකව හට ගන්නා උඩවැඩියා වර්ගයට අයත් ශාකයක්. ඒකත් හැදෙන ස්ථානය අනුව ගස් බේඳුරු, පොල් බේඳුරු, ගල් බේඳුරු, පස් බේඳුරු... ආදී වශයෙන් විවිධ වර්ග තියෙනවා. ඒ කියන්නෙ පොල් ගහක හැදුනොත් පොල් බේඳුරු, කොස් ගහක හැදුනොත් කොස් බේඳුරු, ගලක් උඩ හැදුනොත් ගල් බේඳුරු... ආදී වශයෙන් ඒ ස්ථානය මුල් කරගෙන හඳුන්වනවා. එතකොට ඒ මුල් වෙච්ච ගහේ හෝ ගලේ තියෙන ශක්තියත් ඒ බේඳුරුවලට අවශෝෂණය කරගන්න නිසා ඒවායේ තියෙන ඖෂධ ශක්තියත් යම් ප්‍රමාණයකින් එකිනෙකට වෙනස් වෙනවා. ඒ නිසාම හෙළ වෙදකමේදි බේඳුරු හැදෙන ස්ථානය අනුව විවිධ ඖෂධ වර්ග සඳහා යොදා ගන්නවා.

බේඳුරු දළු රුධිර පට්ටිකා වැඩි කරන්න දායක වෙනවා. රුධිරයේ තියෙන අපද්‍රව්‍ය වහා ඉවත් කරල පිරිසිදු කරනවා. වකුගඩුවල සහ මුත්‍රාශයේ තැන්පත් වෙලා තියෙන කැල්සියම් ඔ්ලෝරයිඩ් වහා දිය කිරීමේ ගුණයෙන් යුක්තයි. මුත්‍රා ගල් තියෙන අයට විශේෂයි. කකුල් ඉදිමුම්, තුනටිය වේදනා, මුත්‍රා ආසාදන වහා සුව කිරීමේ ගුණයෙන් යුක්තයි. බේඳුරු දළු කොහිල ව්‍යංජනයක් ආකාරයට හෝ සාමාන්‍ය මැල්ලුමක් ආකාරයට හෝ බැදුමක් ආකාරයට හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. රවුම් හැඩයට හැදෙන බේඳුරු දළු තරමක් සනකමින් යුක්ත නිසා සම්බෝලයක් ආකාරයට හදාගන්න අපහසු වුනත්, දිගටි හැඩයට හැදෙන බේඳුරු දළු සම්බෝලයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්.

**බේත් සාරණ** – රතු සාරණ, සුදු සාරණ, බේත් සාරණ... ආදී වශයෙන් සාරණ වර්ග කිහිපයක් තියෙනවා. හොඳින් හිරු එළිය වැටෙන තෙතමනය සහිත පසේ රතු, සුදු සාරණ හැදෙනවා. බේත් සාරණ කාෂ්ට ස්ථානවල පඳුරක් ආකාරයෙන් පොළව බදාගෙන හැදෙනවා. ඇට මගින් බෝ වීම සිද්ධ වෙනවා. වටාපතක් ආකාරයට කුඩා කොළ පිහිටල රතු පාටට හුරු දණ්ඩකින් සමන්විත බේත් සාරණ හෙළ වෙදකමේදී බහුලව යොදා ගන්නවා. ඒවායේ ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. ඇස් පෙනීම තීව්‍ර කිරීමත්, මලබද්ධය දුරු කිරීමත්, රතු රුධිරාණු මට්ටම ඉහල දැමීමත්, ලේ පිරිසිදු කිරීමත් සිද්ධ කරනවා. අම්ල පිත්ත ප්‍රදාහය සහ රක්ත උෂ්ණයටත් ඉතා ගුණදායකයි. ශරීරය අධික ලෙස සිසිල් කරන නිසා සෙම බහුල අය රාත්‍රී ආහාරයට ගැනීම සුදුසු නෑ. ගහ සහමුලින්ම තම්බල පානය කිරීමෙන් රක්ත උෂ්ණය නිසා හට ගන්නා සංකූලතා මග හරවා ගන්න පුළුවන්. ඊට අමතරව කොළ සාමාන්‍ය පළා ව්‍යංජනයක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**හීරැස්ස පළු** – වියළි කලාපයේ බහුලවත්, තෙත් කලාපයේ සාමාන්‍ය වශයෙනුත් ගස් උඩ වැවෙන වැල් විශේෂයක්. මේවායේ වැල් පුරුක්වලින් යුක්තයි. ඒ පුරුක් වැල් කෑල්ලක් ගහක් උඩට දැම්මම රසකිඳ වගේ පහලට මුල් ඇදල පොළව සමග එකතු වෙලා වැඩෙන්න පටන් ගන්නවා. වැලේ පැති 3 ක් තියෙනවා. ඒ ආකාරයටම පැති 4 ක් තියෙන වර්ගයකුත් තියෙනවා. ඒකට කියන්නෙ තිරැස්ස වාලු වැල කියල.

මේ වර්ග දෙකේම කොළ ආහාරයට ගන්නවා. හෙළ වෙදකමේදිත් මේ වර්ග 2 ටම සුවිශේෂීය තැනක් හිමි වෙනවා. කැඩුම් බිඳුම් වෙදකමේදි අස්ථි සන්ධි කරන්නත්, සර්ප විසටත් නැතිවම බැරි ඖෂධයක්. හීරැස්ස පළු ඉස්ම බාහිරින් ආලේප කිරීමෙන් ශරීරයට ඇතුල් වෙච්ච සර්ප විස හෝ වෙනත් විස ශරීරය තුල ගමන් කිරීම වළකිනවා. ඒ වගේම පොල් කිරි, තැඹිලි වතුර, නවසි පොල් වතුර, කුරුම්බ වතුර... ආදී වෙනත් ඖෂධීය දෑ එක්ක මිශ්‍ර කරල පානය කිරීමට දීමෙන් ක්ෂණිකව වකුගඩු තුල සහ ආමාශයේ තියෙන විස මුත්‍රා සහ මල මගින් ඉවත් කරනවා. හීරැස්ස කොළ සහ ළපටි දඬුවල යුෂ පානය කිරීමෙන් ශරීර ශක්තිය වර්ධනය වෙනවා, දත් මුල් දියවීම නතර වෙනවා. සාමාන්‍ය පලා ව්‍යංජනයක්, කොළ සම්බෝලයක්, සාමාන්‍ය කලවම් කොළ කැඳක් ආකාරයට හෝ සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන්වහන්සේවිසින්ගිලානප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකල, ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කරල දුන්න තවත් ප්‍රත්‍යක්‍ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් සටහන් කරනවා. උන්වහන්සේ ගිහි වතක ඉඳෙත්දි පොදුවේ මතු කරල දුන්න මේ බෙහෙත් මීට පෙරත් සඳහන් කළා වගේ, ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන නිසාත්, ලෙඩ රෝගවලට කර්මය මුල් වෙන නිසාත්, ඒ ඒ කර්ම විපාක ගෙවා හරින්න සාසනික වත්පිළිවෙත්වල නියැලෙන ගමන්, ප්‍රත්‍යවේක්‍ෂාවෙන් යුක්තව මේ බෙහෙත් පරිහරණය කරනව නම් වඩාත් හොඳ ප්‍රතිඵල ලබාගන්න පුළුවන්. ඒ වගේම මේ හැම අමුද්‍රව්‍යයක්ම සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා, තමන්ට අවශ්‍ය ප්‍රමාණයට ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්න පුළුවන්.

## අතපය වේදනාවට, සෙම් ආබාධවලට

වතුර නොදා සකස් කරගත් ඉදුනු අන්නාසි යුෂ පත බාගයයි (අඩු කෝප්ප බාගයක්), පෙති පුවක් කුඩු තේ හැඳි 1 යි, දෙහි බෑයක ඇඹුල්, කුඩු කරගත් තල් සූකිරි මේස හැඳි 2 යි. මේවා මිශ්‍ර කරල දින 3 ක් උදේ හිස් බඩට ගන්න.

## ඇස් පෙනීම, කන් ඇසීම තීක්‍ෂණ වී ස්නායු බල වැඩීමට

අවශ්‍ය අමුද්‍රව්‍ය : වේළ ගත්ත වල් බෝංචි මල් සහ නිදිකුම්බ මල් ග්‍රෑම් 250 බැගින්, වේළ ගත්ත හීන් බෝවිටිය මල් ග්‍රෑම් 500 යි. (වල් බෝංචි මල් හොයා ගැනීම අපහසු නම් ඒ සඳහා ආදේශකයක් විදිහට වල් මෑ මල් යොදා ගන්න.) මේ සියල්ල කුඩු කරල පෙනේරයකින් හලාගන්න. මේවා අමු බේත් ගොටුකොළ (නැත්නම් වැල් ගොටුකොළ) කිලෝ 1 1/4 ක ඉස්මෙන් (වතුර නොදා) අඹරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල වේළගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් ගන්න.

මේ මගින් ශරීරයේ ස්නායු බල වැඩෙනවා. ස්නායු තුඩු උත්තේජනය වෙනවා. සියුම් ස්පර්ශ දැනෙන්න වෙනවා. ඇස් පෙනීම, කන් ඇසීම තීක්‍ෂණ වෙනවා. ක්ලාන්ත කැරකිලි සහ වෙව්ලන, විසි වෙලා යන ගති දුරු වෙනවා. පාකින්සන් රෝගය සුව වෙන්න ආධාර වෙනවා.

## හන්දිපත් තැලීම් සමනයට

අවශ්‍ය අමුද්‍රව්‍ය : තොටිල්ල පොතු, මූනමල් පොතු, බෝමි පොතු, මිදෙල්ල පොතු, වියළි මුරුංග පොතු ග්‍රෑම් 250 බැගින්, වියළි පොල්පලා කිලෝ 1 1/4 යි.

වියළි පොල්පලාවලට වතුර බෝතල් 7 1/2 ක් දමා 2 1/2 ට හිඳගෙන පෙරාගෙන එන දියරයෙන් ඉහත පොතු සියල්ල එකට දමා ඉස්ම හිඳෙන කල් තම්බ ගන්න. ඉන්පසු ඒ පොතු නැවත වේළල කුඩු කරල තියාගෙන මී තෙල්වලින් අනාගෙන තැලුන හන්දිවලට ප්ලාස්ටරයක් විදිහට දමන්න.

උදේට, රෑට පැය 3 බැගින් දමා තැබීම ප්‍රමාණවත්. දින 9 කින් යථා තත්ත්වයට පත් වෙනවා. පිපිරුන අස්ථිත් නැවත මූට්ටු වෙලා සුව වෙනවා. ඒ වගේම මේවා කුඩු වශයෙන් හෝ මී තෙල්වලින් අනාගෙන චූර්ණ වශයෙන් හෝ අවුරුද්දක් කල් තියාගන්න පුළුවන්.

## පපුව හිරවීම්, උරහිස් ආබාධ, දණහිස්, වැලමිට, කොඳු ඇට පෙළේ වේදනා, නින්ද නොයාම, ආහාර අරුචිය ඇතුළු තවත් රෝග රැසකට

අවශ්‍ය අමුද්‍රව්‍ය : දිවි පහුරු කොළ හෝ සුදු හඳුන් කොළ, නික කොළ, ඇහැළ කොළ, පාවට්ට කොළ ග්‍රෑම් 250 බැගින්, අමු එළු බෙටි ග්‍රෑම් 750 ක් (හොඳින් වියළි නම් ග්‍රෑම් 250 යි.)

ඉහත කොළ වර්ග සියල්ල කොටාගෙන අවශ්‍ය පමණට වතුර එකතු කරල මිරිකගෙන එන ඉස්මවලින් එළු බෙටි ටික අඹර ගන්න. දියාරු වැඩි නම් අංශක 60 ට රත් කරල ගුලි කරන්න පුළුවන් පදම අරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල වේළ ගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 3 ක් පමණ ගන්න. මේ මගින් අත් ඔසවනකොට, පිටුපසට නමනකොට ඇතිවන උරහිස් වේදනාව, හෘදය ආබාධ, පපුව හිරවීම්... ආදිය සමනය වෙනවා. නින්ද නොයාම, ආහාර අරුචිය, දණහිස්, වැලමිට, තුනටිය, කොඳු ඇට පෙළේ වේදනා, බෙල්ලේ පිටිකරට නමන්න බැරි වේදනා (බෙල්ලේ උළුක්කුව), පෙණහැල්ලේ වතුර නිසා ඇතිවන හුස්ම ගැනීමේ අපහසුතා, කාන්තාවන්ට ඇති වෙන ඔසප් වේදනා දුරු වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 83 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දයකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ආර්. එච්. එම්. දිසානායක මහතා - ගොඩගම ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

## මූල්‍යමය දයකත්වය

■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 25,770/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ අරි මග කණ්ඩායම - රු. 16,600/- ■ රොඩ්නි දබ්රේරා මහතා සහ ක්‍රිෂාන්ති දබ්රේරා මහත්මිය - ඇමරිකාව - රු. 15,700/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දෑදිගම මහත්මිය - ඇමරිකාව - රු. 15,700/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 7,850/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 7,850/- ■ රවී අමුණුගම මහතා සහ හේමාලි අමුණුගම මහත්මිය - ඇමරිකාව - රු. 7,850/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ අමින්ද්‍යා රත්නායක දියණිය - තලපත්පිටිය - රු. 5,000/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්දියා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 4,710/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ මධුෂාන් නානායක්කාර මහතා, මිහිලි එදිරිසූරිය මහත්මිය සහ විහඟ නානායක්කාර පුතා - ඇමරිකාව - රු. 3,200/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,140/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,100/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහත සහ නිලූෂි දිසානායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 3,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රන්දිල් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනි මහත්මිය - කඩවත - රු. 2,500/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ මල්ලිකා පෙරේරා මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ ඇල්බට් පෙරේරා මහතා - කොට්ටාව - රු. 2,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,920/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,500/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ දිල්හාර වික්‍රමාරච්චි මහතා - වේවැල්දෙණිය රු. 1,005/- ■ දුලේන් හංසන ප්‍රියංකරගේ පුතා සහ ඉසරි සෙනත්‍යා ප්‍රියංකරගේ දුව - වත්තල - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - 1,000/- ■ එච්. එන්. ජී. වයි. නාඳුගල මහතා - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ කේ. ඒ. සෝමා කස්තුරිආරච්චි මහත්මිය සහ ජී. බී. කේ. ලියනගේ මහත්මිය - අල්ගම - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ෂාන් පුතා - රදවාන - රු. 1,000/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 1,000/- ■ ඩී. පී. ටී. නිශාදි මහත්මිය - රත්මලාන - රු. 1,000/- ■ චමීර රණවක මහතා - කොට්ටාව - රු. 1,000/-

■ මාලනී ප්‍රනාන්දු මහත්මිය - කෑගල්ල - රු. 1,000/- ■ ධම්මිකා හේරත් මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ සඳසීලි දිසානායක මහත්මිය - රු. 1,000/- ■ දුමින්ද කරුණාරත්න මහතා - නෑදුන්ගමුව - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය ඇතුළු පවුලේ සැම - වේවැල්දෙණිය - රු. 1,000/- ■ සී. කහටපිටිය මහත්මිය - වේවැල්දෙණිය - රු. 1,000/- ■ කේ. ඩී. එන්. පිලානගොඩ මහතා - හෝමාගම - රු. 1,000/- ■ ශ්‍යාමලී මහත්මිය - මාබෝදල රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ සුරේෂ් දිල්රුක්ෂාන් මහතා - කළුබෝවිල - රු. 1,000/-, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්ද සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, පී. ඥානපාල මහතා - පින්නවල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, ආර්. එම්. ජේ. බණ්ඩාර මහතා - මාස්පොත, ගෝතමී ආරාමයේ දායක පිරිස - මාස්පොත, ඉෂානි විජේරත්න මෙනවිය - පාදුක්ක - එකතුව - රු. 5,000/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 323,095/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 16,940/- ■ සම්පූර්ණ වියදම - රු. 412,190/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.47/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.waharaka.com webmaster@helabodhupiyuma.net 071 3046895 / 036 2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මුණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 071 8375871 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071 8261500 / 066 2245353 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077 4182684 / 077 0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# උත්තරා කුමාරි

එක්තරා කලෙක විසූ රජගහ නුවර
උත්තරා නමැති සිටු කුමරිය පවර
සිත් පුරා මුනිඳු වැඳ දවසට දෙවර
පින් දරා වසයි අන් සැපයද කවර

කෙළෙස් සන් සිඳුනි සෝතා මගෙහි වැද
අපිස් ගුණය සපුරයි උවැසියක ලෙද
උසස් කුල පුතෙකු පිය සිටු සොයන සඳ
වෙසෙස් ගුණැති මැය සරණේට කැමති වෙද

අතිනත ගත් නමුදු ඔහු මිසදිටු බැවිනි
පතිනිය උත්තරාවෝ පසුවෙති සොවිනි
නැති විය මුනි දකින මග හදවත තැවිනි
කුමරිය එබව පිය සිටු හට සැළ කෙරිණි

මෙනුවර වසන සිරිමා නම ඇති දිගැස
අනුමත කරමි සැමියගෙ නොතනිය පිණිස
දනු වෙන මගක් නැත මෙය විසඳමු එලෙස
යනු එනු වෙහෙර වෙත බුදු පුදනට නොලස

මිසදිටු එම අඟන සිතු මෙහි වසමි සදා
නසනෙමි කුමරියව උණු තෙල් හිසෙහි මුදා
එසඳෙහි රැගෙන එන විට තෙල් පැසෙක රඳා
දොස මට නොවේවා පැතු මෙත ඇයට පුදා

විසිරුව නමුදු තෙල් සැනසුනි සිසිල දනී
දැසි දස් පිරිස සැතිරිට මෙම පහර දුනී
හැසිරුන අයුරු ගැන පවසයි වරද පෙනී
රිසි දඬුවම් දෙනු පින් ඇති කුමරි යෙනී

සිදු කළ වරද දනු එය මහ පවකි ලොවේ
මිදු මට ඔබව වරදින් මා සුදුසු නොවේ
බුදු හිමි එබව පහදනු ඇත තරම පවේ
රුදු භව ගමන ගැන දත යුතු සසර නිවේ

මෙත් වැඩු අයුරු දැන අද මිටු වෙසඟන ට
සිත් සතුටුව මුනිඳු පින් දෙති කුමරිය ට
අත් හළ යුතු තරහ මෙත පතුරනු සැම ට
පත් වුනි එළඟ බුදු බණ දැන අරි මග ට

(ධම්ම පදය - කෝධ වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# දහමට එරෙහි අයටත් අරි මෙත වඩමු...

යට ගිය බුදු දහම මතු වන කලකි යළී
හෙට දින සඟ පෙළකි තුන් ලොව කරන එළී
රට තුල කලබලයි සිටි උන් පවට ඇලී
අට මග දෙසුම වරදකි අද ගැනෙන පළී

පිළිකුල් වදන් එයි සඟුනට පහර දෙන
අකුසල් තමයි අනුකම්පා කරනු මැන
ලොව මල් මතින් යන ගමනක් නොමැති වෙන
නිකැළැල් නිවනමයි සිහි කළ යුතුය දැන

හොඳ දේ දෙන විටදි බාධක වැඩිය ලොවේ
අද මිටු දනන් කැළඹෙයි තව ගැලෙති පවේ
සදහම නැගෙන විට මනු සත ලැබුව භවේ
නිදහස පතා වෙහෙසෙනු පසු කලෙක නොවේ

වෛරින් වෛර නොසන්සිඳෙනා බුදු වදන
ගණන් නොගෙන ගෙන යයි තව දුර දුදන
දොසින් බර වෙලා උපදින තැන හදන
බවින් දුක විඳියි අල්ලාගෙන නොදැන

සිවු මහ අපා පිරෙනා කාලෙකි එන්නේ
පව් කරනා අයට තව තව නොබනින්නේ
ලොව්තුරු මුනිඳු වැඩි මග සිහි කර වන්නේ
ගෙවු දිගු සසර දැක හනිකට පැන ගන්නේ

දම් මග නොහඳුනන අය නෙක මත තනවා
නම් ගොත් ජාති අල්ලා ගෙන පොර කනවා
නිම් නැති බිය සසරෙ තව දුක විඳ වනවා
තුම් මග වඩා බොදුනුවො නිවනට යනවා

හරි නම් තමන් ගත් මග කරගෙන ඉන්න
බැරි නම් අන් අයට දොස් පද නොකියන්න
තිරිසන් ගති එවැනි මනසට නොම එන්න
අරි මෙත් වඩමු සව් සත සුවපත් වෙන්න

නට නට නොසිට ලැබු අත්බැව එල නෙළමු
තුට ලැබ ගන්න අනුනට දොස් බස නොදෙමු
කට වරදා නොගෙන සඟුනට ගරු කරමු
අට ලෝ දහම සිහි කරගෙන කල ගෙවමු

කප් කෙල ගණන් ගිය තැන ලොව පහල වන
සක්වළ දහස් ගණනක නද පැතිර යන
අත්හළ කෙළෙස් මල ලොව්තුරු මුනිඳු බණ
සිත්වල නැගේවා සදහට සුවය දෙන

වහගෙන තිබුන දම් මග සත වෙත බෙදමු
අහනට කෙනෙක් නැති නම් නිහඬව ඉඳිමු
පහරම දෙන විටත් තිලකුණු සිහි කරමු
දහමට එරෙහි අයටත් අරි මෙත වඩමු

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1083 RS.25.00
HELA BODHU PIYUMA 83

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.